# මට්ටකුණ්ඩලී





මිය ගිය පුතුගෙ සොහොනෙහි අබිමුවෙහි හිඳ
පිය තුම බමුණු සිටු ඉකි බිඳ හඬන සඳ
පය තැබු එවිට තරුණෙකු එහි නොසිතු ලෙද
සිය පුතු ඔහු තමා දෙව් ලොව උපත ලද

පෙම්බර දරුව ඔබෙ හැඩ රුව හරි පුදුමයි
සුන්දර මල් පැළඳ ඔබ චන්දන සුවඳයි
දුක්බර විලස එනමුදු හඬනුයෙ කිමදැයි
විස්තර දනු රිසිමි එය පැවසුව මැනවැයි

අර මගෙ දිව රථය බල එහි නැත රෝද
ඉර හඳ ලදොත් සවි කර ගත හැකි නේද
කරදර වනු කුමට බැරි දෙය ඉටු වේද
උර දෙමි රනින් කෙරුමට එය හරි යාද

නැත නැත බමුණ ඇවැසියි හිරු සඳුද මට
දත යුතු නැතොත් මිය යමි මෙහි වැතිර සිට
සිතනුයෙ කිමද තව එය ලද නොහැකි විට
ලත වෙනු එපා මිය යයි දුක සිතෙන කොට

සිහියට ගනුව හිරු සඳු දෙනෙතට දිස් වේ
මළ විට කෙනෙකු මෙම මහ පොළොවට පස් වේ
බැරි විට දකිනු මළ පුතු ඔබ මෙහි දුක් වේ
හැකි විට දකිනු හිරු සඳු සැනසුම අත් වේ

මම වෙමි ඔබගෙ පුතු ලද දෙව් ලොව උපත
කිම පින් නොකර කෙලෙසක ලැබුවෙද සැපත
තම දිව ඇසින් බුදු හිමි දිසි මගෙ විපත
එම සඳ දුටිමි බුදු රුව පියවුනි දෙනෙත

අද සිට පුතුනි මම බුදු හිමි සරණ යමි
පුද සැලකිලි කරමි සතු දෙය පිනට දෙමි
බිඳ හැර මසුරු මළ සත හට පිහිට වෙමි
හොඳ උවසුවෙකු ලෙස දිවි මග කරමි නිමි

(පේත වත්ථු කථා ඇසුරිනි)

පබැඳුම - කාව්‍ය ශිරෝමණී - පානදුරේ එස්. ඒ. එස්. පෙරේරා

# ලද දෙයින් සතුටු වීම හා සමානතාව

## ලොව සැමට එක සේ පොදු අනිච්චතාවය 11



තමන් බලාපොරොත්තුවන දෙයක් නොලැබීම දුකක්. බලාපොරොත්තුව හදාගත්තෙ අවිද්‍යාව නිසා. හැබැයි ලෝක ධර්මතාවය / හේතු ඵල ධර්මතාවය ක්‍රියාත්මක වෙන්නෙ තමන්ගෙ බලාපොරොත්තුව අනුව නෙවෙයි. ඒ කියන්නෙ තමන්ගෙ කැමැත්තට අනුව නෙවෙයි. අනිච්චතාවය කියන්නෙත් මේකටම තමයි.

**බොහෝ දෙනෙකුට තමන්ට යමක් නොලැබුනාට වඩා අනුන්ට යමක් ලැබීම ගැන දුකයි.** ''හැමෝටම නැත්නම් කමක් නෑ. ඇයි මට විතරක් නැත්තෙ? මේක හරි අසාධාරණයිනෙ.'' මෙහෙම අදහසක් තමයි තියෙන්නෙ. මේ විදිහට බොහෝ දෙනෙක් ලෝකයෙන් සමානාත්මතාවයක් බලාපොරොත්තු වෙනවා. ලද දෙයින් සතුටු වෙන්න ඔවුන්ට හැකියාවක් නෑ.

දූන් පොඩ්ඩක් මෙහෙම හිතල බලන්න. වැසිකිළි යාම අපට හරි කරදරකාරී දෙයක්. වැසිකිළි යාම හරි ආස්වාද ජනක දෙයක් විදිහට සලකල වැසිකිළි යාමේ බලාපොරොත්තුවෙන් කවුරුවත් ජීවිතය ගත කරන්නෙ නෑ. ඒක කරන්න දෙයක් නැතිකමට විපාක කයේ අවශ්‍යතාවය නිසා කරනව මිසක් ආස්වාද බලාපොරොත්තුවෙන් කරන දෙයක් නෙවෙයි. අපි හිතමු මොකක් හරි ධර්මතාවයක් නිසා, එක් කෙනෙක් හැර සියල්ලන්ටම වැසිකිළි යාමේ අවශ්‍යතාවය දුරු වෙලා යනව කියල. ඒ කියන්නෙ ඔවුන් ගන්න ආහාර සියල්ල ශරීරයට උරාගන්නවා. එතකොට අසූචි විදිහට පිටවීමේ අවශ්‍යතාවය නැතිවෙනවා. හැබැයි එක් කෙනෙකුට විතරක් වැසිකිළි යාමේ අවශ්‍යතාවය තියෙනවා. දැන් ඔහුට විතරක් ඒ දේට මුහුණ දෙන්න සිද්ධ වීම ගැන ඒ පුද්ගලයට ලොකු දුකක් දූනෙනවා. හැබැයි සියල්ලන්ටම වැසිකිළි යාමේ අවශ්‍යතාවය තිබිච්ච කාලයේ ඒ පුද්ගලයට ඒ ගැන කිසිම ගැටළුවක්, දුකක් තිබුණෙ නෑ. ඒක තමයි සාමාන්‍ය පෘතජ්ජන මානසිකත්වය. තමන්ට යමක් නොලැබුනාම ඇති වන දුකට වඩා වැඩි දුකක් අනෙක් කෙනෙකුට යමක් ලැබුනම හදාගන්නවා. හැබැයි ඒ හොඳ දෙයක් සම්බන්ධයෙන්. **නරක දෙයක් නම්, තමන්ට ලැබුණාම / සිද්ධ වුණාම ඇති වන දුකට වඩා වැඩි දුකක් ඒ නරක දේ අනෙක් අයට නොලැබීම/සිද්ධ නොවීම සම්බන්ධයෙන් ඇති වෙනවා.**

තවත් උදාහරණයක් විදිහට පිරිසක් රැකියාව කරන ආයතනයක් ගනිමු. අපි හිතමු ඒ ආයතනයේ එක සමාන රාජකාරි කරන විසි දෙනෙක් ඉන්නව කියල. දැන් ආයතන කළමනාකාරිත්වය තීරණය කරනවා, එයින් තුන් දෙනෙකුට උසස්වීම් ලබා දෙන්න. මෙච්චර කල් හොඳට සහයෝගයෙන් කටයුතු කරපු පිරිස අතර දැන් ඉතා තියුණු තරඟයක් ඇති වෙනවා. කළමනාකාරිත්වයේ ප්‍රසාදය දිනා ගන්න ඔවුන් නොයෙක් උපක්‍රම යොදනවා. දැන් කළමනාකාරිත්වය මොකක් හරි ක්‍රමවේදයකට තුන් දෙනෙක් තෝරගෙන ඔවුන්ට උසස්වීම් ලබා දෙනවා.

දැන් මොකද වෙන්නෙ? උසස් වීම් නොලැබුන අයට බොහොම හිතට අමාරුයි. සමහරුන්ට තමන්ට නොලැබුනාටත් වඩා අනෙක් අයට ලැබීම ගැන හිතට හරි අමාරුයි. සාමාන්‍යයෙන් මේ වගේ අවස්ථාවක ස්වාධීනව බැලුවොත්, අපිට මූලික අවස්ථා හතරක් දැක බලා ගන්න පුළුවන්.

1. යමෙක් තමන්ගෙ රාජකාරිය හොඳින් ඉටු කරනවා. ඔහුට / ඇයට උසස්වීම් ලැබෙනවා.

2. යමෙක් තමන්ගෙ රාජකාරිය හොඳින් ඉටු කරනවා. ඔහුට / ඇයට උසස්වීම නොලැබී යනවා.

3. යමෙක් තමන්ගෙ රාජකාරිය හොඳින් ඉටු කරන්නෙ නෑ. ඔහුට / ඇයට උසස්වීම් ලැබෙනවා.

4. යමෙක් තමන්ගෙ රාජකාරිය හොඳින් ඉටු කරන්නෙ නෑ. ඔහුට / ඇයට උසස්වීම නොලැබී යනවා.

බැලු බැල්මට මේ 1 සහ 4 අවස්ථා ගැන කවුරුවත් වැඩිය උනන්දු වෙන්නෙ නෑ. මොකද ඒක සාමාන්‍ය සම්මතයේ ගැටළුවක් ඇතිවෙන්න හේතු වෙන්නෙ නෑ. සම්මතය අනුව නම් වෙන්න ඕනත් ඒක තමයි. නමුත් 2 සහ 3 අවස්ථා බොහෝ අය අනුමත කරන්නෙ නෑ. විශේෂයෙන් සාධාරණ ලෝකයක් බලාපොරොත්තුවන අය ඒ අවස්ථා කොහෙත්ම අනුමත කරන්නෙ නෑ. දූන් මේ

ලැබීම/නොලැබීම ධර්මානුකූලව විග්‍රහ කරන්නෙ කොහොමද?

මෙතනදි එක් එක් පුද්ගලයගෙ පෙර කරන ලද කර්ම වේග අනුව තමන්ට විපාක ලැබෙන බව වටහා ගන්න ඕන. ඒ වගේම සියල්ල පෙර කර්මයෙන් විතරක් තීරණය වෙනව කියල වරදවා තේරුම් නොගත යුතුයි. එතනදි පෙර කර්මය මූලික වෙනවා. ඒ වගේම ඒ ඒ මොහොතෙත් අපි කර්ම සිද්ධ කරනවා. ඒවාට ඒ ඒ මොහොතෙත් අදාළ විපාක ලැබෙනවා. අපි යම් කර්මයක් කරන කොට සහජාත වශයෙන් උපදින කර්ම ශක්තිය එවෙලෙම විපාක දෙනවා. නානා ක්ෂණික වශයෙන් නිපදවන කර්ම ශක්තිය ඉදිරියෙදි විපාක දීම සඳහා කර්ම භවයේ තැන්පත් වෙනවා.

දැන් පළවෙනි අවස්ථාවෙදි ඒ පුද්ගලයා තමන්ගෙ රාජකාරිය හොඳින් ඉටු කරන අතරම උසස්වීමක් ලබනවා. හැබැයි සමහර විට ඒ පුද්ගලයා රාජකාරිය හරියට ඉටු කළේ නැත්නම් ඒ උසස්වීම නොලැබී යන්න ඉඩ තිබුණා. මෙතනදි ඒ පුද්ගලය මහන්සි වෙන තරමට ප්‍රතිඵලත් තියෙනවා. හැබැයි දෙවන අවස්ථාව බැලුවොත්, මහන්සි වෙන තරමට ප්‍රතිඵල ලැබිල නෑ. ඒ පුද්ගලයගෙ පෙර පුණ්‍ය කර්ම ශක්තිය බොහොම දුර්වලයි. සමහර විට කොච්චර මහන්සි වුනත් උසස්වීම නොලැබී යන්න ඉඩ තියෙනවා. දැන් තුන්වන අවස්ථාව ගත්තොත්, රාජකාරිය හරියට ඉටු නොකළත් ඒ පුද්ගලයට උසස්වීම ලැබෙනවා. ඒ කියන්නෙ මහන්සි නොවී ඉඳලත් ප්‍රතිඵල ලැබෙනවා. පෙර කරන ලද ප්‍රබල පුණ්‍ය කර්මයක ප්‍රතිඵලයක් තමයි ඒ. අපි සමහර වෙලාවට කතාවටත් කියනවා, මේ මනුස්සය කරන ඕනම වැඩක් හරියනව කියල. එහෙම නැත්නම්, මේ මනුස්සයගෙ වෙලාව හොඳයි, බඹරෙ වැල්ලෙ ගැහුවත් කැරකෙනව කියල කියනවා. හැබැයි ඒ පුද්ගලය මහන්සි වුනා නම් ලැබෙන ප්‍රතිඵල තවත් වැඩි වෙන්න පුළුවන්. හතරවන අවස්ථාවෙදි ඒ පුද්ගලය මහන්සි වෙන්නෙත් නෑ. ප්‍රතිඵලත් නෑ. සමහරවිට මහන්සි වුනා නම් ප්‍රතිඵල ලැබෙන්නත් තිබුනා.

රැකියාවක උසස්වීමක් කියන්නෙත් ලැබීමක්. අපි පෙර කරන ලද පුණ්‍ය / පාප ක්‍රියාවල විපාක ඒවාට බලපානවා. අපි ඒ රැකියාව නොකර වෙන කර්මාන්තයක් කළත් ඒකෙ ප්‍රතිඵල ලැබීමත් ඒ වගේ වෙන්න පුළුවන්. උදාහරණයක් විදිහට ගොවි මහත්තයෙක් සියල්ලම හරියට කළත් බලාපොරොත්තු නොවෙච්ච විදිහට හදිසියේ ගින්නකින් සියල්ල විනාස වෙලා යන්න පුළුවන්. හැබැයි මෙතනදි අදහස් කරන්නෙ, සියල්ල පෙර කර්මය මත තීරණය වෙන නිසා මුකුත් නොකර ඉන්න කියන එක නෙවෙයි. සියල්ල පෙර කර්මය මත තීරණය වෙන්නෙ නෑ. පෙර කර්මය මූලික වුනාට, තමන් දැන් කරන කර්මවලින්, ඒ කියන්නෙ දැන් මහන්සි වෙලා උනන්දුවෙන් ක්‍රියා කිරීමෙන් ඒවාට පිටුබලයක් ලැබිල ප්‍රතිඵල ලැබෙන්න ඉඩ තියෙනවා. ඒ වගේම දැන් මහන්සි නොවීමෙන් තමන්ට ලැබෙන්න තියෙන දේ නොලැබී යන්නත් පුළුවන්.

ඒ වගේම තමන් පෙර අත්බැව්වල කරල කියල හුරු පුරුදු දේට අනුකූලව තමයි රැකියාවත් ලැබෙන්න ඕන. ඒ නිසා වෙළහෙළඳාම් කරපු කෙනෙකුට ජයග්‍රහණය ලැබෙන්නෙ ඒ අංශයෙන්. ගොවිතැන් බත් කරපු කෙනෙකුට ජයග්‍රහණය ලැබෙන්නෙ ඒ අංශයෙන්. ඒ කියන්නෙ තමන්ට හිමිකම (අනන්තරය) තියෙන දේටයි සමනන්තරය පිහිටන්න ඕන. එහෙම නැතිව තමන්ට ලැබෙන්න කොච්චර හිමිකම තිබුණත්, අදාළ රැකියාව නෙවෙයි නම් තෝර ගත්තෙ, ඒ ලැබීම හරියට එන්නෙ නෑ, අඩුපාඩු සහිතයි. එහෙම නැත්නම් කඩාකප්පල් වෙනවා, පාඩු ලබනවා. ඒ නිසාම තමයි කෙනෙක් පෙර ලැගපු ස්ථානය පෙන්වන ලග්නයෙන්, එහෙම නැත්නම් පෙර කරපු දේවල් දරා ගත්තු ආකාරය පෙන්වන කේන්ද්‍රයෙන්, මේ පුද්ගලයට ගැළපෙන්නෙ අහවල් ජාතියේ රැකියා, ව්‍යාපාර ආදී වශයෙන් කියන්න පුළුවන්කම ලැබෙන්නෙ. ඒ වගේම හරියටම කේන්ද්‍රය කියවන්න පුළුවන් නම්, ඒ කියන ජාතියේ රැකියාවක් තෝර ගත්තම ඒකෙන් ජයග්‍රහණය ලැබෙනවා. කර්ම විෂය අචින්ත්‍යයි, සර්වඥ ගෝචර දෙයක්. ඒ නිසා ශ්‍රාවකයො විදිහට අනුමාන වශයෙන් හේතු ඵල විස්තර කිරීමක් තමයි අපට කරන්න පුළුවන්.

එක අවස්ථාවක සැරියුත් හාමුදුරුවො මේ වගේ ප්‍රශ්නයක් බුදු පියාණන් වහන්සේගෙන් අහනවා. සැරියුත් හාමුදුරුවො මිනිස්සු ව්‍යාපාර කරන හැටි දැකල, එක් එක් ව්‍යාපාරවල දියුණුව විවිධාකාර වෙන්න හේතු මොනවද, ප්‍රත්‍ය මොනවද කියල බුදු පියාණන් වහන්සේගෙන් විමසා සිටියා. අංගුත්තර නිකායේ දෙවන කාණ්ඩයේ 152 පිටුවේ එන වණිජ්ජා සූත්‍රයේ මේ බව සඳහන් වෙනවා. එතනදි සැරියුත් හාමුදුරුවො, ව්‍යාපාරිකයන් කොටස් හතරක් ගැන විමසනවා.

1. ඇතැමෙක් ව්‍යාපාරයක් පටන් ගන්නවා, ඒ ව්‍යාපාරය අතර මගදි බිඳ වැටෙනවා.

2. ඇතැමෙක් ව්‍යාපාරයක් පටන් ගන්නවා, හැබැයි අදහස් කරන තරමට, ඒ කියන්නෙ මහන්සියේ තරමට ප්‍රතිඵල නොලැබී යනවා.

3. ඇතැමෙක් ව්‍යාපාරයක් පටන් ගන්නවා, ඔවුන්ට අදහස් කරන මට්ටමට, ඒ කියන්නෙ මහන්සියේ තරමට ප්‍රතිඵල ලැබෙනවා.

4. ඇතැමෙක් ව්‍යාපාරයක් පටන් ගන්නවා. ඔවුන්ට අදහස් කරන මට්ටමට වඩා, ඒ කියන්නෙ මහන්සියේ තරමට වඩා ප්‍රතිඵල ලැබෙනවා.

බුදු පියාණන් වහන්සේ මේ අවස්ථා හතරට හේතු මේ විදිහට පෙන්වා දෙනවා.

ඇතැම් කෙනෙක් ශ්‍රමණයෙකු හෝ බමුණෙකු වෙත ගොස් ඔවුන්ට ප්‍රත්‍යයෙන් (සිවුපසයෙන්) පුදන බවට පවසා පැමිණෙනවා. නමුත් ඒ පුද්ගලයා පසුව ඒ බව අමතක කර කිසිවක් නොදී සිටිනවා. ඔහු මිනිස් භවයක් ලැබූ කල යම් ව්‍යාපාරයක් අරඹයිද එය අතරමග බිඳ වැටෙනවා.

ඇතැම් කෙනෙක් ශ්‍රමණයෙකු හෝ බමුණෙකු වෙත ගොස් ඔවුන්ට ප්‍රත්‍යයෙන් පුදන බවට පවසා පැමිණෙනවා. ඒ පුද්ගලයා පසුව තමන් යමක් දීමට පොරොන්දු වූ බැවින් මුලින් පැවසූ පරිදි නොව, යමක් සුළුවෙන් දෙනවා. ඔහු මිනිස් භවයක් ලැබූ කල යම් ව්‍යාපාරයක් අරඹයිද එය

මහන්සියේ තරමට ප්‍රතිඵල ගෙන නොදී ඉතා අල්ප දියුණුවක් ලබනවා.

ඇතැම් කෙනෙක් ශ්‍රමණයෙකු හෝ බමුණෙකු වෙත ගොස් ඔවුන්ට ප්‍රත්‍යයෙන් පුදන බවට පවසා පැමිණෙනවා. ඒ පුද්ගලයා පසුව තමන් පොරොන්දු වූ පරිදිම අදාළ ප්‍රත්‍ය පහසුකම් සලසා දෙනවා. ඔහු මිනිස් භවයක් ලැබූ කල යම් ව්‍යාපාරයක් අරඹයිද එය ඔහු අදහස් කරන ලෙසටම දියුණු වෙනවා.

ඇතැම් කෙනෙක් ශ්‍රමණයෙකු හෝ බමුණෙකු වෙත ගොස් ඔවුන්ට ප්‍රත්‍යයෙන් පුදන බවට පවසා පැමිණෙනවා. නමුත් ඒ පුද්ගලයා පසුව මුලින් පැවසුවටත් වඩා හොඳින් සියලු අඩු පාඩු සොයා බලා අදාළ ප්‍රත්‍ය පහසුකම් සලසා දෙනවා. ඔහු මිනිස් භවයක් ලැබූ කල යම් ව්‍යාපාරයක් අරඹයිද එය මහත් වූ දියුණුවක් ලබනවා. සියල්ලන්ගෙන්ම ඔහුට උදව් උපකාර ලැබෙනවා. වැඩි මහන්සියකින් තොරවම ව්‍යාපාරය දිනෙන් දිනම දියුණුවට පත් වෙනවා.

හැබැයි මේ පෙන්වා තියෙන්නෙ ප්‍රධාන හේතු හතර මිසක් එකම හේතු නෙවෙයි. මොකද හැම දේම බහු හේතුකයි. ඒක හේතුක නෑ. උදාහරණ විදිහට ලෝභ සිතක් කිව්වම, ලෝභය ප්‍රධාන වශයෙන් තිබුණත් මෝහයත් යම් ප්‍රමාණයකට තියෙනවා. ඒ වගේ මේ හැම දෙයකටම යම් හේතුවක් ප්‍රධාන වෙලා තවත් හේතු අප්‍රධාන වෙනවා.

හේතුවට අනුකූල ඵලය ලැබෙනව මිසක් කිසිවක් අපේ කැමැත්ත අනුව සිද්ධ වෙන්නෙ නැති බව මෙයින් අපට හොඳින් පෙනී යනවා. පෙර පුණ්‍ය ක්‍රියා සිදු කරල තියෙනවනම්, ඒ වගේම අදත් අලෝභයෙන් පසුවෙනවනම්, ඊට අමතරව ප්‍රයෝග සම්පත්ති යොදා ගන්නව නම්, ඒ පුද්ගලයට හොඳින් ලැබෙනවා. ඒ වගේම පෙර පුණ්‍ය ක්‍රියා සිදු කරල තිබුනත්, අද අලෝභයෙන් නොසිටියොත් සහ ප්‍රයෝග සම්පත්ති යොදා නොගත්තොත් ලැබීම අඩු වෙනවා. හැබැයි කෙනෙකුට හිතෙන්න පුළුවන්, අද ඉතා ලෝභයෙන් පසුවන සමහර කෙනෙකුට හොඳට ලැබෙනවනෙ කියල. එතනදි අපේ සාපේක්ෂ දෘෂ්ටියට අනුව ලැබෙනව කියල පෙනුනට, ඒ අයට හිමි ලැබීම අඩු වෙලා තියෙන්නෙ. ඒ වගේ අය අද අලෝභයෙන් හිටියනම් ඔවුන්ට අසීමිතව ලබන්න හිමිකම් තියෙනවා. මොකද ඔවුන් අද ලෝභයෙන් ඉඳලත් ලැබෙන්නෙ, ඔවුන් ආර්ය උත්තමයන්ට වගේ සත්පුරුෂ අයට පෙර හොඳින් දන් දීල තියෙන නිසා. පුණ්‍ය ක්‍රියාවේ ප්‍රභලත්වය නිසා තමයි එහෙම වෙන්නෙ. ඊට අමතරව සෙත් ශාන්ති, නැකැත් සාස්ත්‍ර, වාස්තු විද්‍යා ආදී ප්‍රයෝග සම්පත්තිවලිනුත් ලැබීම වැඩි වෙන්න පුළුවන්. හැබැයි උරුම නැත්නම් ලැබීමක් ගන්නත් බෑ. ඒකත් පෙර කර්මවලට යටත්ව ලැබෙන්නෙ. නමුත් ප්‍රයෝග විපත්ති නිසා වැහිල තිබ්බ්ච හේතු වාසනා ප්‍රයෝග සම්පත්තිවලින් මතු කර ගන්න පුළුවන්.

මේ කරුණු විස්තර කළේ, සියල්ලන්ටම සමානව නොලැබෙන්නෙ ඇයි කියන කාරණය පහදල දෙන්න. මොකද අද සාධාරණ ලෝකයක් බලාපොරොත්තුවෙන් ඉන්න ඇතැම් පිරිසක්, ඇති හැකි අය ගැන ද්වේශයක් හදාගෙන, ඒ වගේම නැති බැරි අය ගැන ඇලීමක් ඇති කරගෙන මුළාවට පත් වෙලා, නැති බැරි සියල්ලෝම ඇති හැකි අය බවට පත් කරනව කියල, කවදාවත් කරන්න බැරි වැඩක් කරන්න ගිහින් අන්තිමට නිකරුනේ සතර අපාගත වෙනවා. හැබැයි පෙර පුණ්‍ය කර්ම ශක්තිය තිබිලත්, බාහිර පරිසරයේ විවිධ හේතු නිසා නැති බැරි බවට පත් වෙච්ච අයට, ඒ බාහිර හේතු සකස් කරන කොට ඇති හැකි අය බවට පත් වෙන්න පුළුවන්. ඒක එහෙම අයට මිසක් සියල්ලන්ටම කරන්න පුළුවන් දෙයක් නෙවෙයි. ඒ නිසා ඒ කාරණය වෙනයි. නමුත් මේ කියන්නෙ ඒක නෙවෙයි, පෙර පුණ්‍යකර්ම ශක්තියක් නැති අයව ඇති හැකි අය බවට පත් කරන්න බෑ. ඒ කියන්නෙ පෙර හේතු හදල නොතිබුණොත් දූන් ප්‍රයෝග සම්පත්ති යෙදුවත් ඵලයක් ලබන්න බෑ.

මේ කාරණය උදාහරණයකින් පැහැදිලි කළොත්, යම් කිසි පැළයක් ඉස්සෙල්ලම හිටවන කොට ජලය සහ පොහොර තියෙන්නෙ පස යට. ඒ පැළයට ඒවා අදින්න තරම් ශක්තියක් නෑ. උඩ පස කර වෙලා කාෂ්ට වෙලා තියෙන්නෙ. ඒ නිසා උපක්‍රමයක් / ප්‍රයෝග සම්පත්තියක් විදිහට පැළය පොඩි කාලෙ ජලය සහ පොහොර දාල හදනවා. ලොකු වුණාට පස්සෙ ගහේ මුල් පස යටට ගිහින් අර පොහොරයි ජලයයි ඇදගෙන තනියෙන් හැදෙනවා. ඊට පස්සෙ පිටින් ප්‍රත්‍ය දෙන්න ඕන නෑ. අපි පිටින් ප්‍රයෝග සම්පත්තියක් යොදල කාලයක් යනකොට තමයි ඒක මෝරල සමනන්තර ප්‍රත්‍යය සකස් වෙලා අනන්තර ප්‍රත්‍යය ඇදල එන්නෙ. එතකොට ඒ පැළයේ වැඩීමේ ශක්තිය හරියට අනන්තරය වගේ. පොළොව මතුපිට තියෙන වියළි කාෂ්ට බව තමයි ප්‍රයෝග විපත්තිය බවට පත් වෙලා තියෙන්නෙ. ඒ නිසා ඒ කොටසට ජලය, පොහොර දාල ප්‍රයෝග සම්පත්තියක් වශයෙන් සමනන්තරය සකස් කරනවා. එතකොට ඒ අනන්තර සමනන්තර ප්‍රත්‍ය දෙක එකතු වෙලා ගහ හැදෙනවා. බාහිරින් අඩුපාඩු වෙච්ච ප්‍රත්‍ය, ප්‍රයෝග සම්පත්තියෙන් සකස් කරල දීමයි සිද්ධ කළේ.

බුදු පියාණන් වහන්සේ ධර්ම දේශනා කළේ, තම තමන්ට හැදෙන්න මිසක් අනුන්ව හදන්න නෙවෙයි. අනිච්ච වූ ලෝකය නිච්ච ලෝකයක් කරන්න, විසම වූ ලෝකය සම කරන්න කාටවත් බෑ. අසම සම වූ බුදු පියාණන් වහන්සේටවත් ඒක කරන්න බෑ. එහෙම කරන්න පුළුවන් වුණා නම් උන්වහන්සේ ඒක කරනවා. නමුත් එහෙම ක්‍රමයක් නෑ. හේතු ඵල ධර්මතාවය වැටහෙනව නම් අපට කරන්න තියෙන්නෙ, ඇලෙන්නෙ ගැටෙන්නෙ නැතුව, ලද දෙයින් සතුටු වෙලා, හැකි ඉක්මනින් ආර්ය මාර්ගය වඩා ගැනීම. එහෙම නැතුව තමන්ට ලැබෙන දෙයින් උදම් ඇනීමවත්, නොලැබෙනවනම් අනුන් එක්ක ගැටීමවත් නෙවෙයි කරන්න ඕන. මොකද නිච්ච වූ, සම වූ ලෝකයක් හදාගෙන සතුටෙන් සැනසුමෙන් ඉන්න ක්‍රමයක් අනිච්ච වූ, විසම වූ ලෝකයේ නෑ. ඒ නිසා ලද දෙයින් සතුටු වෙලා, ලැබෙන දෙයක් සතුටින් බාරගෙන මේ ලැබිච්ච මනුස්ස අත්බවයෙන් උපරිම ප්‍රයෝජන අරගෙන වහ වහා ආර්ය මාර්ගය පූර්ණ කරගන්න උත්සාහ කරන්න.

*පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරෙන් සකස් කළේ:*

**චතුර හිඳුරංගලගේ**
නුගේගොඩ
0777 302407

# ඔබ ප්‍රඥාවන්තයෙක් ද?

**3 වන කොටස**



**ශ්‍රාවක:** මේ ධර්මය වැරදියට වටහා ගැනීම හරියට සර්පයෙක් වලිගයෙන් අල්ල ගත්ත වගේ කියල බුදු රජාණන් වහන්සේ දේශනා කරල තියෙන බව පසුගිය සාකච්ඡාවෙදි දැන ගත්තා. මමත් දැන් දහම වටහගෙන තියෙන්නෙ වැරදියටද කියල දන්නෙ නැති නිසා ඒ ගැන විස්තර දැන ගන්න කැමතියි.

**දේශක:** ඔව්, මේ ගැන **අලගද්දූපම සූත්‍රයේ** බුදු හාමුදුරුවො දේශනා කරල තියෙනවා. තව දුරටත් පැහැදිලි කරල කියනව නම්, මේ ධර්මය ප්‍රායෝගික නෑ කියල කියන්නෙ වැරදියට අල්ල ගත්ත අය තමයි. බුද්ධ දර්ශනයයි ලෝකෙ තියෙන අනිත් ආගමික දර්ශනයි ඔක්කොගෙන්ම කියන්නෙ මිනිස්සුන්ට හොඳින් ඉන්න ක්‍රමයක් කියල කියන්නෙත් ඔය වැරදියට අල්ල ගත්ත උදවිය තමයි. උදේ ඉඳල හැන්දෑ වෙනකල්ම බණ අහන රටේ අපරාධ වැඩි වෙන්නෙ කොහොමද කියල අහන්නෙත් දහම වැරදියට අල්ල ගත්ත අය තමයි.

**ශ්‍රාවක:** එහෙම බැලුවොත් මම විතරක් නෙවෙයි, ලංකාවෙ වැඩි හරියක්ම ඉන්නෙ ඔය විදිහට කතා කියන අයනේ! එහෙනම් වැඩි හරියක් ඉන්නෙ දහම වැරදියට අල්ල ගත්ත අයද? සමාවෙන්න මටනම් ඔය කතාව පිළිගන්න බෑ.

**දේශක:** ඔව්, විස්වාස කරන්න නම් අමාරු තමයි. නමුත් ඒක තමයි ඇත්ත. මම ඔය වැරදියට වටහ ගෙන තියෙන එක කාරණයක් පෙන්නුවට පස්සෙ ඔබත් අනිවාර්යෙන්ම පිළිගනීවි, මේ ධර්මය ප්‍රායෝගික නෑ කියල කියන්නෙ, බුදු හාමුදුරුවො දේශනා කරල තියෙනව කියල හිතාගෙන වෙන වෙන දේවල් කර කර ඉන්න අයයි කියල. බුද්ධ දර්ශනයෙන් පෙන්වා දෙන්නෙ, පුළුවන් ඉක්මනින් මේ දෙව් මිනිස් සුගතිය ඇතුළු තුන් ලෝකෙන්ම මිදෙන්න කියල. නමුත් අනෙක් ආගම්වලින් කියන්නෙ, හොඳින් ඉඳල හොඳ දේවල් කරල සුගතියට යන්න කියල. එතකොට කොහොමද අනිත් ආගමික දර්ශනයි, බුද්ධ දර්ශනයයි එකයි කියල කියන්නෙ? ශ්‍රී සද්ධර්මය කවුරුහරි ඇහුවනම්, ඒ කල්‍යාණ මිත්‍රයෙක්ගෙන්ම තමයි. එහෙම අහගත්ත අයගෙ පංච භය වෛර සංසිඳෙනවා. (සංයුක්ත නිකාය 2 වන කාණ්ඩය - <u>පංච භය වෛර සූත්‍රය</u> 106 පිටුව) එතකොට ඒ පුද්ගලයා නිසා කාටවත් භයක් හෝ වෛරයක් ඇති වෙන්නෙ නෑ. එතකොට කොහොමද අපරාධ වැඩි වෙන්නෙ?

**ශ්‍රාවක:** එහෙම කල්පනා කරල බැලුවොත් නම් වැරදියට අල්ල ගත්ත අය තමයි වැඩි. හැබැයි මට ඒක තව ටිකක් පැහැදිලි කර ගන්න ඕන. බුදු හාමුදුරුවො දේශනා කරපු ඒවා නෙවෙයි, වෙන වෙන දේවල් කර කර ඉන්නෙ කියල කිව්වෙ මොකක් නිසාද ?

**දේශක:** උදාහරණ ගොඩක් තියෙනවා. මම පැහැදිලි කරල දෙන්නම්. ඔබ අහල තියෙනවද "ආරෝග්‍යා පරමා ලාභා" කියන බුද්ධ දේශනාව?

**ශ්‍රාවක:** අපොයි ඒක ඕන කෙනෙක් දන්නවනෙ. ඕන තරම් ඉස්පිරිතාලවලයි, ගිලන් රථවලයි ගහලත් තියෙන්නෙ. ඔය කියන්නෙ නිරෝගී බව උතුම්ම ලාභයයි කියන එකනෙ. ඇයි ඉතින් ඒක වැරදිද? නිරෝගිකම කියන්නෙ කාටහරි ලබන්න පුළුවන් ලොකුම ලාභයක් නෙවෙයිද?

**දේශක:** ඔව් ඒක ඇත්ත තමයි. හැබැයි නිරෝගිකම කෙනෙකුට ලබන්න පුළුවන් ලොකුම ලාභයක් කියල දේශනා කරන්න සාරාසංඛ්‍ය කල්ප ලක්ෂයක් පෙරුම් පුරල මහා ඥානයක් ලබා ගන්න ඕනද?

**ශ්‍රාවක:** හැබැයි මට ඒ කතාවනම් තේරෙන්නෙම නෑ.

**දේශක:** ඒ කතාව විතරක් නෙවෙයි, ආරෝග්‍යා පරමා ලාභා කියන කතාවත් තේරිලා නැතුව තමයි ඔය ඉන්නෙ.

**ශ්‍රාවක:** ආරෝග්‍යා පරමා ලාභා කියල දේශනා කරල තියෙන්නෙ, නිරෝගිකම උතුම්ම ලාභය කියන එකට නෙවෙයි නම් වෙන මොකකටද?

**දේශක:** ඔබට අමතක වුනාට අපි මේ සාකච්ඡාව පටන් ගන්න කොටම පැහැදිලි කරල දුන්නා, මේ බුදු දහම තේරුම් ගන්න පුළුවන් ☞

වෙන්නෙ ප්‍රඥාවන්තයින්ට විතරයි කියල. මේ දහම් පාඨය වටහාගන්නත් ප්‍රඥාව තියෙන්න ඕන.

**ශ්‍රාවක:** අපි කලින් කතා කරපු දහම් කරුණු නම් මට හොඳට වැටහුනා. ඒත් මේ කාරණය නම් තාම වැටහුනේ නෑ. ඉතින් ඔතන හොඳට පැහැදිලිව කියල තියෙනවනෙ නිරෝගිකම උතුම්ම ලාභයයි කියල. ඒක වැරදි වෙන්නෙ කොහොමද?

**දේශක:** ඔය ගාථාව තියෙන්නෙ මජ්ඣිම නිකායේ 2 වන කාණ්ඩයේ එන මාගන්දිය සූත්‍රයේ

ආරෝග්‍යා පරමා ලාභා
නිබ්බානං පරමං සුඛං
අට්ඨංගිකෝච මග්ගානං
ඛේමං අමථගාමිනං

මේ සම්පූර්ණ ගාථාවෙන් කියන දේ ඔබ දන්නවද?

**ශ්‍රාවක:** ඔව්, නිවන නමැති පරම සැපය ලබා ගන්න නම් ආර්ය අෂ්ඨාංගික මාර්ගය අනුගමනය කළ යුතුයි. ඒ සඳහා නිරෝගිකම කියන ලොකුම ලාභය අවශ්‍යයි. ලෙඩ රෝග සහිතව නම් ඔහු ඉන්නෙ, නිවන් යන්න තියා හරියට බණක් භාවනාවක්වත් කරගන්න පුළුවන් වෙයිද? ඔය ගාථාවෙ තේරුම හරියටම ගැළපිලා තියෙනවනෙ. ඉතින් කොහොමද මම වැරදියට වටහ ගෙන කියල කියන්නෙ. අනිත් එක මේක වැරදෙන්න තරම් අමාරු එකකුත් නෙවෙයි. හැමෝම ඕකෙ හරි තේරුම දන්නවා.

**දේශක:** ඔව් ඔබ හරි. හැමෝම හිතන් ඉන්නෙ හරි තේරුම දන්නව කියල තමයි. ඒකනේ නිතර නිතර ඔබ ඔය කියන තේරුම අහන්න ලැබෙන්නෙ.

**ශ්‍රාවක:** මෙච්චර පැහැදිලිව තේරුම් ගැලපිලා තියෙද්දිත් ඒක වරද්දගෙන කියල කියන්නෙ කොහොමද? මම නම් කොහෙත්ම පිළිගන්නෙ නෑ ඒක වැරදියි කියල.

**දේශක:** ඕකට ඔච්චර කලබල වෙන්න දෙයක් නෑ. මාගන්දිය සූත්‍රය හොඳ සිහි කල්පනාවෙන් යුක්තව එක පාරක් කියෙව්ව නම් හරි තේරුම වටහාගන්න පුළුවන්. හැමෝටම නිවැරදිව අවබෝධ කරගන්න පුළුවන් විදිහට මම මාගන්දිය සූත්‍රය මුල ඉඳලම විග්‍රහ කරල දෙන්නම්.

**ශ්‍රාවක:** බොහොම හොඳයි. මමත් ඒකට කැමතියි. එතකොට මටත් බලාගන්න පුළුවන් මට වැරදුනේ කොතැනද කියල.

**දේශක:** දවසක් බුදු හාමුදුරුවෝ එක්ක සාකච්ඡාවක් කරන්න මාගන්දිය බමුණා ආවා. ඒ වෙලාවෙ උන්වහන්සේ, ලෝක සත්ත්වයා පංච කාමයට මුළා වෙලා අහුවෙන හැටිත්, එහි ආදීනවත් ඔහුට දේශනා කළා. ඒ දේශනාව අතර තුර බුදු රජාණන් වහන්සේ මේ ආරෝග්‍යා පරමා ලාභා කියන ගාථාව දේශනා කළා. ඒ වෙලාවෙ ඔහු ඉතා පුදුමයටත් සතුටටත් පත් වුනා.

**ශ්‍රාවක:** බුදු හාමුදුරුවෝ ඔහුටත් දේශනා කරල තියෙන්නෙ නිරෝගිකම උතුම්ම ලාභය කියල තමයි. ඒක වැටහිච්ච නිසා වෙන්න ඇති සතුටු වුනේ.

**දේශක:** ඔව්, ඔබ වගේම මාගන්දිය බමුණත් ඒකෙ තේරුම දන්නවා. ඔහු සතුටු වුණේ ඒ ගාථාව මීට කලින් අහල තිබුණ නිසා. ඒ ගාථාව බොහොම වටින වැදගත් ගාථාවක් බව ඔහුගෙ ගුරුතුමා ඔහුට කියල දීල තිබුණා.

**ශ්‍රාවක:** බුදු හාමුදුරුවෝ දේශනා කරන ගාථාවක් මාගන්දිය බමුණගෙ ගුරුවරු දන්නෙ කොහොමද?

**දේශක:** ඔය ප්‍රශ්නෙම මාගන්දිය බමුණටත් තිබුණ නිසා, අපේ බුදු හාමුදුරුවෝ ඔය ගාථාව මීට පෙර වැඩ හිටපු කාශ්‍යප බුදු රජාණන් වහන්සේ විසින් දේශනා කරන ලද ගාථාවක් බවත්, දැන් ඒක අනුක්‍රමයෙන් පෘතජ්ජනගත වෙලා තියෙන බවත් මාගන්දිය බමුණට පැහැදිලි කරල දුන්නා.

**ශ්‍රාවක:** ඇයි මේ පෘතජ්ජනගත වෙලා කියල කියන්නෙ ?

**දේශක:** ලොව්තුරා බුදු රජාණන් වහන්සේලා මේ ලෝකයට පහළ වුණාට පස්සෙ දේශනා කරන්නෙ, මීට පෙර කවදාවත් අහල නැති ශ්‍රී සද්ධර්මය. ඒ දේශනාවට පාවිච්චි කරන්නෙ ඒ අවස්ථාවෙ ලෝකයේ භාවිතා කරන වචන. ඒ වචනවලට ලෝකයා දීපු තේරුමක් තියෙනවා. නමුත් ඒ වචනම භාවිතා කරල මින් පෙර නොඇසූ දහමක් බුදු රජාණන් වහන්සේ විග්‍රහ කරල දෙනවා. නමුත් කාලයක් ගියාම ලෝකෝත්තර අර්ථ යටපත් වෙලා ලෝකයේ ලෞකික අර්ථ මතු වෙලා එනවා. කවුරු හරි ශ්‍රී සද්ධර්මය දන්න කෙනෙක් ඒකෙ නියම අර්ථය මතු කරල දුන්නෙ නැත්නම් ලෝකයේ පවතින සාමාන්‍ය අර්ථයෙන් ඒ ධර්මය පවතිනවා. සාමාන්‍ය අර්ථයෙන් පවතින ධර්මයක් තමයි කාශ්‍යප බුදු රජාණන් වහන්සේගෙන් පස්සෙ වේද ග්‍රන්ථවලට ගිහින් තියෙන්නෙ. හැබැයි ඒ වේදය හදාරන අය ඒ ගාථාවට බුදු රජාණන් වහන්සේ දුන්න නියම අර්ථය දන්නෙ නෑ. ඒ අය දන්නෙ ඒ ගාථාවෙ වචනවල අර්ථ විතරයි. අන්න එහෙම වුනාට පස්සෙ ඒ ගාථාව පෘතජ්ජන ගත වෙලා කියල කියනවා.

**ශ්‍රාවක:** එහෙනම් මාගන්දිය බමුණා ඒ ගාථාව දැනගත්තට, බුදු රජාණන් වහන්සේ දීපු තේරුම දැනගන්න විදිහක් නෑ.

**දේශක:** හැබැයි ඒ වුනාට මාගන්දිය බමුණ කියනවා, ඒ ගාථාව මමත් දන්නව කියල. ඒක හරි වටින ගාථාවක් කියලත් කියනවා. ඒ අවස්ථාවෙදි බුදු රජාණන් වහන්සේ ඔහුගෙන් ප්‍රශ්න කරල අහනවා, ඔය ගාථාවෙ කියවෙන ආරෝග්‍ය කවරේද, නිවන කවරේද කියල.

**ශ්‍රාවක:** මාගන්දිය බමුණ කියන්නෙත් මම කියන තේරුමමද?

**දේශක:** ඔව්, ඔහු හොඳට ඔහුගෙ ඇඟපත අතගාල පෙන්වල කියනවා, මට දැන් කිසිම ලෙඩක් නෑ, මේක තමයි මගේ ආරෝග්‍යය, මේක තමයි මගේ නිවන කියල.

**ශ්‍රාවක:** එතකොට ඔය ඇගේ පතේ කිසිම ලෙඩක් නැතිව නිරෝගීව ඉන්න එක තමයි ලොකුම ලාභය කියල කිව්වෙ මාගන්දිය බමුණද?

**දේශක:** ඔව්, මාගන්දිය බමුණ තමයි. ඒක පැහැදිලිව ඒ සූත්‍රයේ තියෙනවා. එහෙම පිළිතුරු දුන්න මාගන්දිය බමුණගෙ අනුවණකම පෙන්වල දෙන්න බුදු හාමුදුරුවෝ අපූරු උපමාවක් දේශනා කරනවා.

**ශ්‍රාවක:** මොකක්ද ඒ උපමාව? මටත් හොඳට පැහැදිලි වෙන විදිහට ඒක කියල දෙන්න, මාත් හිටියෙ මාගන්දිය බමුණ වගේනෙ!

**දේශක:** හිතන්න අන්ධ මනුස්සයෙක් ඉන්නව කියල. ඒ අන්ධ මනුස්සයට යාළුවෙක් ගෙනත් දෙනවා, කුණු ජරා රෙද්දක්. ඒ රෙද්ද හොඳ පිරිසිදු සුදු මටසිළුටු එකක් කියල තමයි දෙන්නෙ. ඊට පස්සෙ අන්ධ මනුස්සය ඒ රෙද්ද ඇඳගෙන අනිත් අයට පෙන්නල කියනවා, මට හොඳ පිරිසිදු රෙද්දක් ලැබුණ කියල. ඊට පස්සෙ, ඒ අන්ධ මනුස්සය ගැන මොකද හිතන්නෙ කියල ප්‍රශ්නයක් අහනවා.

**ශ්‍රාවක:** පව් අනේ ඒ මනුස්සයා. ඔහු ඉතින් දන්නෙ නෑනෙ යාළුවා කුණු ජරා රෙද්දක් දීල තමන් රවට්ටල කියල.

**දේශක:** මාගන්ධිය බමුණාත් දෙන්නෙ ඔය උත්තරයම තමයි. ඔහු කියනවා, අන්ධ මනුස්සය ඒ රෙද්ද ගැන දන්නෙ නැති නිසා, දැක්කෙ නැති නිසා, බොරුවකට රැවටිලා තමයි මේ රෙද්ද ගැන ඔය විදිහට කතා කරන්නෙ කියල. එතකොට බුදු රජාණන් වහන්සේ පෙන්වා දෙනවා, මාගන්ධිය බමුණාත් හරියට අර අන්ධය වගේ රැවටිලා ඔය ගාථාවෙ නියම තේරුම දන්නෙ නැතිව, තමන්ගෙ ශරීරයේ නිරෝගිකම ආරෝග්‍යය කියල, හරි තේරුම දන්නෙ නැති කෙනෙක් කියපු වචන අන්ධයෙක් වගේ පිළි අරගෙන, ඒ මදිවට අනික් අයටත් ඒකම කිය කියා අන්ධ විදිහට හැසිරිලා අනිත් අයවත් රවට්ටනව කියල.



**ශ්‍රාවක:** එතකොට අපි හැමෝම මේ ආරෝග්‍යා පරමා ලාභා කියන දහම් පාඨය ගැන දන්නෙ හරි තේරුම නෙවෙයිද? අර ජයවර්ධනපුර මහ රෝහලේත් ලොකුවට ගහල තියෙන්නෙ "ආරෝග්‍යා පරමා ලාභා" කියල. ඒකත් වැරදිද?

**දේශක:** රෝහලක ඔය කියන තේරුමෙන් ඒක ගහල තියන එක ගැටළුවක් නෑ. මොකද රෝහල කරන්නෙ ඔය ඇඟේ පතේ රෝග නිරෝග කරන එකනේ. හැබැයි අපේ බුදු හාමුදුරුවො දේශනා කරල තියෙන අර්ථ ගන්නව නම්, ඔය වගේ අර්ථයක් කොහෙත්ම රෝහලක ගහන එකක් නෑ. ඔබ දන්නවත් ඇති නකුල පිතු කියල සූත්‍රයක් තියෙනවා (සංයුක්ත නිකාය - 3 කාණ්ඩය - 3 පිටුව). ඒකෙන් විග්‍රහ කරල දෙන්නෙ, මේ වගේ ලෙඩ වෙන, කුණු වෙන ශරීරයක් පරිහරණය කර කර ඉන්න ගමන් ඒක මොහොතකට හරි නිරෝගි කර ගන්න උත්සාහ කරන එක මහ මෝඩකමක් කියල.

**ශ්‍රාවක:** අපේ බුදු හාමුදුරුවො එහෙම දේශනාත් කරල තියෙනවද? එහෙමනම් ඉතින් ඇඟේ පතේ ලෙඩ ටික සුවකර ගන්න එක තමයි ලොකුම ලාභය කියල කියන්න විදිහක් නෑනෙ. එකක් හරිනම් අනික වැරදියිනෙ. මෙතන මොකක් හරි පටලැවිල්ලක් තියෙන බව දැන් නම් මටත් වැටහෙනවා.

**දේශක:** බොහොම හොඳයි. ඔබට නම් මේ දහම දකින්න පුළුවන් ප්‍රඥාවක් තියෙන බව තේරෙනවා. එහෙම අයට තමයි මේ දහම පෙන්වා දෙන කොට තමන්ට වැරදිලා තියෙන බව වැටහෙන්නෙ. එහෙම නැතිව ඔය පදයටම අල්ලගෙන ඉන්න පද පරම කියන අයට ඒක වැටහෙන්නෙ නෑ. ඒ විතරක් නෙවෙයි, කොච්චර පෙන්වල දුන්නත් වටහා ගන්න උත්සාහ කරන්නෙවත් නෑ.

**ශ්‍රාවක:** ඇයි මට මෙච්චර කාලයක් මේක වැටහුනේ නැත්තෙ?

**දේශක:** ත්‍රිපිටකයේ තියෙන වචන දෙක තුනක් කට පාඩම් කරගත්තට දහම වැටහෙන්නෙ නෑ. ඒකට සූත්‍ර හොඳින් පරිශීලනය කරන්න ඕන. එක සූත්‍රයකින් කියන කාරණාව තවත් සූත්‍රයකින් වෙනස් වෙන්න විදිහක් නැති බව මූලිකවම අවබෝධ කරගන්න ඕන. එහෙම නැත්නම් තමන් තේරුම්ගත් ආකාරයේ වරදක් බව දකින්න ඕන. ඊට පස්සෙ නිවැරදි අර්ථය හොයා ගන්න පර්යේෂණයක් කරන්න ඕන. එතකොට පහසුවෙන්ම නිවැරදි අර්ථය මතු කර ගන්න පුළුවන්.

**ශ්‍රාවක:** දැන් මට තේරෙනවා, මේ දහම් පාඨයේ යම් කිසි ගැඹුරු අර්ථයක් තියෙන බව. ඒත් මම කොහොමද ඒ ගැඹුරු අර්ථය සොයා ගන්නෙ ?

**දේශක:** ඔබ වගේම තමයි එදා බුදු රජාණන් වහන්සේගෙ මේ උපමාව අනුව මාගන්ධිය බමුණාටත් තේරුනා, තමන් වැරදියට වටහගෙන ඉන්නෙ කියල. ඊට පස්සෙ ඔහු දිගින් දිගටම ඉල්ලා සිටියා ඒකෙ නිවැරදි අර්ථය කියල දෙන්න කියල. මාගන්ධිය බමුණාට නොතේරුනාට, ඒ වෙන කොටත් බුදු රජාණන් වහන්සේ ඒ ගාථාවෙ අර්ථය විග්‍රහ වන ධර්ම සාකච්ඡාවක් තමයි මාගන්දිය බමුණාත් එක්ක කරමින් හිටියෙ. ඒ විදිහට නියම අර්ථය විග්‍රහ කරල තියෙද්දිත් මාගන්දිය බමුණාට ඒක වැටහුනේ නැත්තෙ, ඔහුට අර්ථය කියල දීල ඒක වටහා ගන්න තරම් දහම් දකින ප්‍රඥාව හෙවත් ආර්ය ඇස නැති නිසා බව බුදු රජාණන් වහන්සේ පෙන්වා දුන්නා. ඒ කියන්නෙ චක්ඛුං උදපාදි වෙලා නෑ.

**ශ්‍රාවක:** මටත් ආර්ය ඇස නැතිව ඇති. මම කොහොමද ආර්ය ඇස ලබා ගන්නෙ?

**දේශක:** ඔබ අහන ප්‍රශ්නත් එදා මාගන්දිය බමුණා බුදු රජාණන් වහන්සේගෙන් අහපු ප්‍රශ්න වගේම තමයි. තමන්ට ආර්ය ඇස ලබා ගන්න නම් සත්පුරුෂයෙක් සොයාගත යුතු බවත්, ඒ සත්පුරුෂයාගෙන් ශ්‍රී සද්ධර්මය අහගත යුතු බවත්, ඒවා හොඳින් විමර්ශනය කරල යෝනිසෝ මනසිකාරයෙන් යුක්තව ධම්මානුධම්ම ප්‍රතිපදාවට පැමිණිය යුතු බවත් දේශනා කළා. මේ හතරෙන් තමයි දහම් ඇස පහළ වෙන්නෙ. යම් අයෙක් මේ අංග 4 වඩාගත් පසු මේ රෝගය කුමක්ද යන්නත්, සියලු සංසාර දුකෙන් මිදීමේ ක්‍රමවේදය තමන්ම දැනගන්නා බවත් පෙන්වා දුන්නා.

**ශ්‍රාවක:** මේ රෝගය ගැන දැනගන්න එක හිතුව තරම් ලේසි වැඩක් නෙවෙයි වගේ පේන්නෙ. කොච්චර අමාරු වුනත් මමත් කොහොම හරි මේ රෝගය ගැන දැනගන්නවාමයි.

**දේශක:** බොහොම හොඳයි. ඔය වගේ අධිෂ්ඨානයක් ☞

තියෙනව නම් මේ රෝගය මොකක්ද කියල වටහාගන්න පහසු වේවි. මේ කියන්න යන්නෙ මේ ලෝකෙ තියෙන වටිනාම ඇත්තක් ගැන. මේක අවබෝධ කරගන්න උත්සාහයක් වීර්යක් කරන්නම වෙනවා. දැන් ඔබට මම කියල දෙන්නම්, එදා බුදු රජාණන් වහන්සේ පංච කාමය පිළිබඳව මාගන්දිය බමුණට විස්තර කරල දීපු දහම් කරුණු කීපයක්. හොඳින් නුවණ මෙහෙයවල වටහා ගන්න උත්සාහ කරන්න.

**ශ්‍රාවක:** මම උපරිම වශයෙන් උත්සාහ කරනවා. මටත් ඔය රෝගය මොකක්ද කියල දැනගන්නම ඕන.

**දේශක:** අපේ බුදු හාමුදුරුවො මේ ධර්මය පහදල දෙන්න උන්වහන්සේගෙම ගිහි ජීවිතය උදාහරණයකට ගත්තා. ඒ කාලෙ මාළිගා තුනක් තිබුණු බවත්, වැසි කාලයට ඉන්න වෙනම තිබුණු මාලිගාවෙ ස්ත්‍රීන් සමග මුල් හාර මාසයකම පංච කාමයෙන් උපරිම වශයෙන් සතුටු වෙමින් ගත කළ බවත් පැහැදිලි කරල දුන්නා. එදා එහෙම කළත්, දැන් පංච කාමයේ ආදීනවය දැනගෙන ඒකට තියෙන කැමැත්ත සම්පූර්ණයෙන්ම පහකරගෙන ඉතාමත් සන්සුන්ව වාසය කරන බවත් පැහැදිලිව විස්තර කරල දුන්නා. ඒ වගේම උන් වහන්සේ මේ කාමයන්ට තියෙන කැමැත්ත නිසා හදාගත් දාහයෙන් දැවි දැවී කාමයන් ඇසුරු කරන අන්‍ය ලෝක සත්ත්වයන් දකින බවත්, ඒවාට කිසිම කැමැත්තක් නැති බවත්, ඒවායේ නොඇලෙන බවත්, ඉතාමත්ම සන්සුන්ව, සුවයෙන් වාසය කරන බවත් තව දුරටත් පෙන්වා දුන්නා. ඒ විතරක් නෙවෙයි, පංචකාම සැප කියන්නෙ මහා මුළාවක් බව අපූරු උදාහරණයක් අරගෙන මාගන්දිය බමුණට සරලව විස්තර කරල දුන්නා.

**ශ්‍රාවක:** ඔය උදාහරණ උපමාවලින් තමයි හොඳට දහම වටහාගන්න පුළුවන් වෙන්නෙ. අර අන්ධ මනුස්සයගෙ උපමාවෙන් තමයි, මම මෙච්චරකල් රැවටිලා හිටිය බව වැටහුනේ.

**දේශක:** එදා බුදු රජාණන් වහන්සේ ඔය අන්ධ මනුස්සයගෙ උපමාව තවත් විදිහකට මාගන්දිය බමුණට විස්තර කරනවා. එතනදි උන්වහන්සේ අහනවා, අර ජරා රෙද්දට රැවටිලා හිටිය අන්ධ මනුස්සයට කවුරු හරි නැවත පෙනීම ලබා දුන්නොත් මොකක්ද වෙන්නෙ කියල.

**ශ්‍රාවක:** ඇස් පෙනීම ලැබිච්ච ගමන් දකිනවා, මෙච්චරකල් රැවටිලා හිටිය රෙද්දෙ හැටි. ඊට පස්සෙ නම් ඒකට කැමති වෙන එකක් නෑ. කාටවත් හොඳයි කියල පෙන්වන්න යන එකකුත් නෑ.

**දේශක:** හරියට හරි. ඒක තමයි ඔබ මේ රෝගය ගැන දැනගත්තම වෙන්නෙත්. මෙච්චර කල් අන්ධ නිසා සැපක් කියල රැවටිලා හිටියෙ මායාවකට බව දැනගන්නවා. ඊට පස්සෙ පංච කාමයන්ගෙ උගුලට හසු නොවී ඉන්න ඔබට පුළුවන් වෙනවා. ඒ වගේම පංච කාමයට තියෙන කැමැත්ත ටික ටික අඩු වෙලා යනවා. ඒ වගේම මේ උදාහරණය ගැනත් හොඳට ගැඹුරින් කල්පනා කරල තේරුම් අරගෙන උත්තර දෙන්න.

**ශ්‍රාවක:** හරි මම හොඳට හිතල බලල උත්තර දෙන්නම්.

**දේශක:** කුෂ්ඨ රෝගයක් හැදිච්ච මනුස්සයෙක් මේ උදාහරණයට අරගෙන තියෙන්නෙ. නිතරම කසන, සත්තුත් කන, වේදනා දෙන කුෂ්ඨ රෝගයක් තියෙන කෙනෙකුට සාත්තු කරන අයෙක් ගිනි අඟුරු කබලක් අරගෙන අර කුෂ්ඨය තියෙන තැන රස්නෙට තවනව කියල හිතන්න. එහෙම තවනකොට ඒ රෝගියාට කොහොම දැනෙයිද ?

**ශ්‍රාවක:** කුෂ්ඨය තියෙන තැන රස්නෙන් තවනකොට හරි සනීපයක් දැනෙයි. තව තවන්න කියලත් කියයි.

**දේශක:** හරියටම හරි. කුෂ්ඨය තියෙන තැන තවනකොට සැපක් විදිහට දැනෙනවා තමයි. හැබැයි බුදු රජාණන් වහන්සේ ඊළඟට ප්‍රශ්න කරනවා, ඔය කුෂ්ඨ රෝගය සම්පූර්ණයෙන්ම හොඳ වෙලා සාමාන්‍ය විදිහට හමක් ආවට පස්සෙ, බලවත් කෙනෙක් අර මනුස්සයව අල්ලගෙන නැවතත් ගිනි අඟුරු කබලකින් තැව්වොත් ඔහු මොකක් කියයිද කියල.

**ශ්‍රාවක:** අපෝ පිච්චෙනවා කියල කෑගහයි. හොඳට තියෙන හමත් ගිනි රස්නෙට පිච්චෙන්න පුළුවන්නෙ.

**දේශක:** ඊළඟට බුදු රජාණන් වහන්සේ දෙවන ප්‍රශ්නය අහනවා. ඇයි දැන් කෑ ගහන්නෙ? කලින් කුෂ්ඨ රෝගය තියෙන වෙලාවෙදි ඒක ගිනි කබලෙන් තවන කොට පිච්චුනේ නැත්ද? ඇයි ඒ වෙලාවෙ සැපයි කියල කිව්වෙ?

**ශ්‍රාවක:** ඒ වෙලාවෙ ඉතින් අර කුෂ්ඨ රෝගය තිබුණනේ. එතකොට කහන ගතියයි වේදනාවයි නිසා අර ගිනි රස්නෙ සැපක් වගේ තමයි දැනෙන්නෙ.

**දේශක:** ඇත්තටම පිච්චෙන එක සැපක් නොවන බව ඔබත් දන්නවා. කුෂ්ඨය තියෙන නිසා ඇත්තටම පිච්චුනත්, දැනුනෙ සැපක් විදිහටමයි. එහෙනම් ඔහුට ලැබිල තියෙන්නෙ නිවැරදි දැනීමක් නෙවෙයි. ඒ වගේ වැරදියට දැනෙන මායා දැනීමකට විපරීත සංඥාවක් කියල කියන බව ධර්මයේ සඳහන් වෙනවා. ඒ කියන්නෙ දුකේ සුඛ සංඥාව විපරීතයි, අනිච්චේ නිච්ච සංඥාව විපරීතයි, අනත්තයේ අත්ත සංඥාව විපරීතයි, අසුභයේ සුභ සංඥාව විපරීතයි.

**ශ්‍රාවක:** විපරීත සංඥාවකින් අපිට දැනෙන්නෙ ඇත්තක් නෙවෙයි, රෝගය තියෙන නිසා රැවටිලා ගත්ත මායා දැනීමක්.

**දේශක:** හරියටම හරි. ඔබට හොඳින් වැටහිලා තියෙනවා. ඔය විදිහටමයි අපිට පංච කාමයත් සැපයි කියල දැනෙන්නෙ. අපි කාමයට තියෙන කැමැත්ත නිසා කාම දාහයක් හදා ගන්නවා. ඒ දාහය තමයි කුෂ්ඨ රෝගයට සමාන කළේ. පංච කාමයන් ඇසුරු කරන කොට අපට සැපක් හැටියට දැනෙනවා. ඒක වෙන්නෙ අපේ ඉන්ද්‍රියන්වලට බාහිර රූප ස්පර්ශ වෙනකොට. ඒක හරියට කුෂ්ඨය තියෙන තැන ගිනි කබලෙන් තවනව වගේ. ඒ නිසා විපරීත සංඥාවෙන් සැපක් කියල දැනෙනවා. එහෙම වෙන්නෙ අපි අපේ ඉන්ද්‍රියන් රෝග කරගෙන ඉන්න නිසා. ඉන්ද්‍රියන්වලට දැනෙන ස්පර්ශය සැපක් විදිහට මුළා වෙලා අරගන්නවා.

**ශ්‍රාවක:** තව ටිකක් හොඳට විස්තර කරල දෙන්න. මට ටිකක් අමාරුයි තේරුම් ගන්න.

**දේශක:** ඇසෙන් රූප බැලීම කියන රූප කාමය මම උදාහරණයකට අරගන්නවා. අපිට තියෙනවා ☞

රූප බලන්න කැමැත්තක්, තද බල ඕනෑකමක්, දාහයක්. එහෙම වුනාම රූප නොබල ඉන්න අමාරුයි. ඒ අමාරුව සමනය කරගන්න රූප බලන්නම වෙනවා. බලනකොට සැපක් වගේ දැනෙනවා. රූපයක් ඇසේ ස්පර්ශ වුනාම තමයි එහෙම දැනෙන්නෙ. හැබැයි අපිට තියෙන්නෙ කාමයට තියෙන කැමැත්ත නිසා රෝගී කරගත්ත ඇසක්. ඒ රෝගී ඇසට රූප ස්පර්ශ වුනාම හරියට අර කුෂ්ඨ රෝගියාට ගිනි කබලෙන් තැව්ව වගේ තමයි. විපරීත සංඥාවකින් තමයි එහෙම සැපක් දැනෙන්නෙ. ඒ වගේම රෝගයක් හදාගෙන ඇහෙන් ඒ රූප බලල තමයි අපි සැපක් කියල විඳගන්නෙ. එහෙම රෝගයක් හදාගත්තෙ නැතිව රූප බලන්න අපිට පුළුවන්නම්, රූප බැලුව කියල අමුතු සැපක් දැනෙන්නෙ නෑ. ඇස වගේම තමයි අනිත් ඉන්ද්‍රියන්ගෙනුත් අපි සැපක් කියල විඳගන්නෙ, ඔන්න ඔය මූලා සහගත ක්‍රමයටම තමයි.

**ශ්‍රාවක:** ඔය සම කියන ඉන්ද්‍රියටනේ අපි ශරීරය කියලත් කියන්නෙ. ශරීරයට සැප දැනෙන ක්‍රමය තමයි බුදු රජාණන් වහන්සේ කුෂ්ඨ රෝගියාගෙ උපමාවෙන් පෙන්වා දීල තියෙන්නෙ. ඒ වගේ මේ සම්පූර්ණ මනුස්සයාම නිතරම රෝගයක් හදාගෙන ඉන්නෙ.

**දේශක:** ඔව්. මනුස්සයා හිතින් තමයි එහෙම රෝගයක් හදාගෙන ඉන්නෙ. මේ ලෝකය හරිම සාරයි, වටිනවා, හොඳයි කියල කියන දෘෂ්ඨිය නිසා විග්‍රහ කරල දෙනවා. ඒක මම රූප සටහනකින් පැහැදිලි කරල දෙන්නම්.

මේ විදිහට කවදාවත් මේ ලෝක සත්වයන්ට පංච කාමය භුක්ති විඳින්න තියෙන කැමැත්ත අඩු වෙන්නෙ නෑ. ඒක චක්‍රයක් වගේ ක්‍රියා කරල නිතරම මහා දාහයකින් තමයි ඉන්නෙ. මේක හොඳට තේරුම් ගන්න මම ඔබෙන් ප්‍රශ්නයක් අහන්නම්. අර කුෂ්ඨ රෝගියාව කොච්චර ගිනි කබලෙන් තැව්වත් ඔහුගෙ රෝගය හොඳ වෙයිද?

**ශ්‍රාවක:** ගිනි කබලෙන් තැව්වම ඔහුට සැපක් දැනෙනවා තමයි. හැබැයි ඉතින් රෝගය හොඳ කරගන්න ගිනි කබලෙන් තවල හරියන්නෙ නෑ. ඒකට සුදුසු ප්‍රතිකාර කරන්න වෙනවා.

**දේශක:** අන්න ඒ වගේම තමයි පංච කාමය සැපක් කියල හිතාගෙන කොච්චර රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ ආදිය ඇසුරු කළත්, ඔබම හදාගෙන තියෙන රෝගය නම් හොඳ වෙන්නෙ නෑ.

**ශ්‍රාවක:** ඒක නම් ඇත්ත තමයි. ඒකනේ අපිට කවදාවත් මේවායේ ඇති වීමක් දැනෙන්නෙ නැත්තෙ. ඔය රෝගය හොඳ කර ගන්න ක්‍රමයක් ඇත්තෙම නැත්ද?

**දේශක:** තියෙනවා. ඒක තමයි බුදු රජාණන් වහන්සේ අපිට කියල දීල තියෙන්නෙ. හැබැයි රෝගය හොඳ කරගන්න නම්, ඉස්සෙල්ලම ඔබ මොකද කරන්නෙ?

**ශ්‍රාවක:** මම ඉක්මනට ඒක හොඳ කරගන්න උත්සාහ කරනවා. හැබැයි ඉතින් මම දන්නෙ නැත්නම් මට රෝගයක් තියෙන බව, මම සාමාන්‍ය විදිහට ලෝකෙ වැඩ ටික කරගෙන ඉඳියි.

**දේශක:** ඔබටත් ඒ වගේ රෝගයක් තියෙන බව වැටහිලා තියෙනව නම්, ඔබ දන්නවා මේ පංචකාම සැප කියල විඳින්නෙ ඇත්තක් නොවන මුලාවක් බව. ඒ විතරක් නෙවෙයි, ඔබ තේරුම් ගන්න ඕන මේ පංච කාමයන් පසු පස හැමෝම ලෝභයෙන්, ද්වේශයෙන් වැඩ කරල ඉතා පහත් තත්ත්වයකට වැටිල මහා විනාසයකට ගොදුරු වෙලා බියකරු සසරේ නොනිවෙන ගමනක යෙදෙන බව.

මේ අනතුරු ගැන නොදන්න සාමාන්‍ය මනුස්සයින්, තමන් හදාගත් රෝගයකින් පීඩා විඳින බව නොදැන, ඒ පීඩාව සමනය කර ගන්න පංච කාමය ඇසුරු කරල විපරීත සංඥාවකින් මුලා සැපයකුත් විඳල, ඒ මුලා සැපයම හොයමින් මේ ලෝකය තුළටම වෙලා ඉන්නවා. නමුත් ඔබ දැන් දන්නවා මේක මුලාවක් බව. ඔබ මේ රෝගය හදා ගත්තෙ මොකක් නිසා කියලද හිතන්නෙ?

**ශ්‍රාවක:** මුලා සැපයක් ලබාදෙන පංච කාමයට මගේ තියෙන කැමැත්ත තමයි හේතුව.

**දේශක:** හරියටම හරි. ඇත්තටම ඔබට මේ රෝගය හොඳ කරගන්න ඕනකමක් තියෙනව නම් මොකක්ද ඔබ කළ යුත්තෙ?

**ශ්‍රාවක:** ඔය පංච කාමයට තියෙන කැමැත්ත නැති කර ගත්ත නම් හරිනෙ. ඒත් මම කොහොමද එහෙම තීරණයක් එක පාරටම ගන්නෙ. පංච කාමයෙන් මට සැපයක් ලැබෙනවනෙ.

**දේශක:** ඔබ හරි. ඒක එච්චර ලේසි වැඩක් නෙවෙයි තමයි. පංච කාමයෙන් සැපක් ලැබෙන එකත් ඇත්ත තමයි. හැබැයි ඔබ දන්නවා ඒක මුලා සැපක් මිසක් ඇත්තක් නොවන බව, ඒ කියන්නෙ ඒක විපරීත දෘෂ්ටියක් බව. ඒ මුලා සැපයෙන් මහා විනාසකාරී ආදීනවයක් තියෙන බවත් වටහා ගන්න ඕන. ඒ කියන්නෙ




ඇති වෙච්ච දැඩි කැමැත්තක්, තමන්ම හදාගත්ත එකක්. මේ සූත්‍රයෙදි ඔය තත්ත්වය ඇති වෙන හැටි හොඳින් දැනගන්න වෙනවා ඔබට රෝගයක් තියෙන බව. ඇත්තටම ඔබට යම් කිසි රෝගයක් තියෙන බව දැන ගත්තොත්

ඒ ආස්වාදය අනිච්චයි, දුක්ඛයි, විපරිනාම ධම්මයි කියල වටහා ගන්න ඕන. මේ ආදීනව වටහා ගන්න ටිකක් ගැඹුරින් සාකච්ඡා කරන්න අවශ්‍ය වෙනවා. නමුත් ඔබට සාමාන්‍ය වශයෙන් තේරුම් ගන්න පුළුවන් මේ කාමය නිසා ලෝභ, ද්වේශ වෙන බව. ලෝභයෙන්, ද්වේශයෙන් ඔබට සිද්ධ වෙන්නෙ මහා විනාසයක්. ඒ වගේම මහා විනාසයක් වන බොරු සැපක් විඳගෙන මහා අනතුරකට වැටෙන්න ඔබ කැමතිද ?

ශ්‍රාවකඃ ඔව් මටත් දැන් වැටහෙනවා. මමත් කොහොම හරි මේකෙන් ගැලවෙන්නම ඕන. මේ ලෝකෙ වැඩ කර කර ඉඳල හරියන්නෙ නෑ. මමත් කොතනින් හරි පටන් ගන්න ඕන. මම ඔය පංච කාමයට තියෙන කැමැත්ත කොහොම හරි අඩු කර ගත්තොත් වැඩක් වෙයිද?




දේශකඃ හරියටම හරි. එහෙම තමයි පටන් ගන්න තියෙන්නෙ. ඒක පෙන්වා දෙන්න පුළුවන් අර ඉස්සෙල්ල පෙන්වා දීපු සටහනම අරගෙන.

මේ විදිහට අවබෝධයකින් වැඩ කරල පංච කාමයට තියෙන කැමැත්ත ක්‍රමයෙන් අඩු කරගෙන ගියොත් කවද හරි ඔබට රූප බලන්න තියෙන ඕනෑකම නැත්තටම නැතිවෙන දවසක් එයිද නැත්ද?

ශ්‍රාවකඃ අනිවාර්යෙන්ම එයි. කලින් සටහන අනුව කවදාවත් ගැලවීමක් නැති වුනාට, මේ සටහන අනුව ගියොත් නම් කවදහරි ගැලවෙයි කියල හොඳින්ම පැහැදිලි වෙනවා.

දේශකඃ රූප බලන්න කිසිම ඕනෑකමක් නැත්තෙ රහතුන් වහන්සේලාට විතරයි. ඒ කියන්නෙ ඔබ මේ විපරීත සංඥාවට රැවටෙන්නෙ නැතිව, මේ ලෝකයට ඇලෙන්නෙ ගැටෙන්නෙ නැතිව හොඳට සිහියෙන් ඉඳල. ඇලෙන අවස්ථාවන් අඳුනගෙන විමර්ශනය කරල නොඇලී ඉන්න උත්සාහ කරනව නම්, ඒ වගේම ගැටෙන අවස්ථා අඳුනගෙන විදර්ශනා කරල නොගැටී ඉන්න උත්සාහ කරනව නම් ඒක තමයි මේ පංච කාමයට තියෙන කැමැත්ත අඩු කරන ක්‍රම වේදය.

ශ්‍රාවකඃ එතකොට බුදු රජාණන් වහන්සේ පරම ලාභය ලබා ගන්න පුළුවන් ආරෝග්‍යය කියල කිව්වෙ මේ පංච කාම රෝගය ආරෝග්‍ය කරගත්ත එකට නේද?

දේශකඃ හරියටම හරි. දැන් ඔබට ආර්ය ඇස ලැබිල තියෙන්නෙ. මෙන්න මේ රෝගය නිසා මුලා සැපයට අහුවෙලා, මේ සංසාරෙ ගමන් කරන කාටවත් නිවන කියන පරම සැපය ලබාගන්න බෑ. ඒ නිවන කියන පරම සැපය ලබා ගන්න නම් මේ රෝගය ආරෝග කරගන්න ඕන. මෙන්න මේ ආරෝග්‍යය නමැති පරම ලාභය ලබාගත් අයට නිවන කියන පරම සැපය ලබාගන්න පුළුවන්. ඒකට ආර්ය අෂ්ඨාංගික මාර්ගය අනුගමනය කරන්න ඕන.

ශ්‍රාවකඃ ආර්ය අෂ්ඨාංගික මාර්ගය අනුගමනය කිරීම ගැන මට පැහැදිලි කරල දෙන්න පුළුවන්ද?

දේශකඃ ඒක සෑහෙන්න විස්තර සහිතව කියල දෙන්න අවශ්‍යයි. ධර්මය වැරදියට අල්ල ගැනීම සර්පයා වලිගයෙන් අල්ල ගත්ත වගේ කියල බුදුන් වහන්සේ දේශනා කරල තියෙන්නෙ ඇයි කියන කාරණාව දැන් ඔබට හොඳින් වැටහෙන්න ඇති.

ශ්‍රාවකඃ ඔව්. ඒ කාරණාවනම් මට හොඳින්ම තේරුනා. මේ විදිහට දහම් කාරණා දැනගත් නිසා ධර්මාවබෝධය ලබා ගන්න පුළුවන් කියන විස්වාසය මට දැන් දැනෙනවා. මම දන්න අඳුනන බොහොමයක් පිරිස් ධර්මය අල්ලගෙන ඉන්නෙ වැරදියට බවත් දැන් මට තේරෙනවා. ඒ පිරිස හරි මාර්ගයට ගන්න අපිට කරන්න පුළුවන් දෙයක් තියෙනවද?

දේශකඃ වැරදියට දහම අල්ලගෙන ඉන්න ඔබේ යහළුවන්ට, නෑදෑ හිතවතුන්ට, අසල් වැසියන්ට ධර්ම මාර්ගය හරියට පෙන්වා දෙන්න නම්, මේ කාරණය ඒ අයට පැහැදිලි කරල කියල දෙන්න වෙනවා. ඔබට ඒ දේ කරන්න අපහසුනම්, සුදුසු හොඳම දේ තමයි ඒ දේ දන්න, ඒ ගැන දැනුවත් කෙනෙකුට ඒ පිරිසව යොමු කරල, ඒ අයට නිවැරදි දහම් අවබෝධයට පාර සකස් කරල දෙන එක. ඒ හැරෙන්න ඔබට / මට කරන්න පුළුවන් දෙයක් නම් නෑ.

ශ්‍රාවකඃ මට තේරුනා.

දේශකඃ හුඟක් කරුණු කතා කළ නිසා ආර්ය අෂ්ඨාංගික මාර්ගය ගැන වැඩි විස්තර තවත් දවසක කතා කරමු. තෙරුවන් සරණයි !

සටහන

විද්‍යාවේදී ඒ. එම්. ධනරත්න අල්විස්
පැපිලියාන - 071 2736623

# කාරුණික දැනුම් දීමයි

හෙළ බොදු පියුම දහම් සඟරාව දිවයිනේ දැනට ලබාගත නොහැකි පළාත් ගණනාවකම පින්වතුන් සඟරාව ලබාගැනීමට සලස්වන ලෙසට ඉල්ලීම් කර ඇත. මෙම සඟරාව දැනට බෙදාහරිනු ලබන ස්ථාන භාර පින්වතුන් මෙන් කිසිදු මූල්‍යමය ලාභ අපේක්ෂාවකින් තොරව උතුම් සාසනික කටයුත්තක් ලෙස සලකා එකී සත්කාර්යට දායක විය හැකි තවත් ස්ථාන භාර පින්වතුන් ඇත්නම් ඒ සඳහා ඉදිරිපත් වන ලෙස කාරුණිකව දැනුම් දෙනු ලැබේ. විමසීම්: 071-3046895

**අභයරතනාලංකාරය - 61**

# ගිහි ගෙදරදී වින්ද දුක් ගිනි... (VI)



**- වහරක අභයරතනාලංකාර හිමි**

අභයරතනාලංකාර හිමියන් සාසනික කටයුතු කරමින් ගිහි වතක ඉඳෙද්දී විඳින්න සිද්ධ වෙච්ච දුක් ගිනිවල තවත් පැතිකඩක් තමයි මේ විස්තර කරන්නෙ. පසුගිය කලාපයෙන් සඳහන් කළා වගේ මේ එන විස්තරවලටත් අදාළ නම් ගම් අවස්ථානුකූලව සඳහන් නොකරන්නෙ, මේ කාරණා බරපතල නිසා ඒ සිදුවීම්වලට සම්බන්ධ අයගේ පරම්පරාවල අයත්, ඊට සම්බන්ධ වෙච්ච සමහර අයත් තවමත් ඉන්නව නම්, ඒ අයට යම් කිසි හිත් වේදනාවක්, ගැටළුවක් එන්න පුළුවන් නිසා. ඒ නිසා මේ විදිහට ඒ අනන්‍යතාවයන් හෙළිදරව් නොකර සඳහන් කිරීමෙන්, වරද වරද විදිහට දකල සමාජයේ අපහාස උපහාසවලින් තොරව ඒ වැරදි හදාගෙන ආයති සංවරයේ පිහිටන්නත් ඊට සම්බන්ධ පුද්ගලයන්ට අවස්ථාව ලැබෙනවා. මේ තමයි උන්වහන්සේ මුහුණ දුන් ඒ අත්දැකීම්.

ගිහි වතක ඉඳගෙන විවිධ ප්‍රදේශවල සෙත් ශාන්ති ආදී කටයුතු කරමින් මම අවසන් වතාවට තවත් එක්තරා ප්‍රදේශයක ඒ කටයුතු සිද්ධ කරන්න ආවා. එතනදි හොඳින් ඒ කටයුතු කරගෙන ගියත්, ඒ ප්‍රදේශයේ හිටපු හාමුදුරුවරු ඇවිස්සුනා. අන්තිමට ඒ අය තමයි මට ලොකුම කොඩිවින කළේ. මොකද මම සෙත් ශාන්ති ආදී සාසනික කටයුතු කරපු නිසා ඒවාට සෙනග ඇවිත් ඒ පන්සල්වල පසළොස්වක පෝය දවසටත් සිල් සමාදන් වෙන්න සෙනග හොයාගන්න බැරි වුනා. ඒ ප්‍රදේශයේ මහ පිරිවෙන් පවා තිබුණා. ඒ පූජනීය ස්ථානවල වෙනදට 80 ක් විතර සිල් සමාදන් වෙන්න එනවා. මම ඒ ප්‍රදේශයේ වැඩ පටන් ගත්තම ඒ සෙනග මා වටා එක්රොක් වෙන්න පටන් ගත්තා. වටපිටාවෙ පන්සල්වලට එන පිරිස අඩු වුණා. මම සාසනික කටයුතු කරන තැනට 200 ක් විතර සෙනග ආවා.

ඊට පස්සෙ ඉතින් හාමුදුරුවරු මොකද කළේ, මේ වැඩෙන් පන්සල් වැහිල යනව කියල උපාසක මහත්වරු කිහිප දෙනෙක් සම්බන්ධ කරගෙන සාකච්ඡා කරල කොඩිවින කළා. ඒ කොඩිවින මට පුද්ගලිකවම එල්ල කරලයි කළේ. මගේ නමට සම්බන්ධ කරලම ඒ කරපුව බොහොම තදින් බලපාල තිබුණා. ඒව හුඟක් පහුවෙනකොට තමයි වැඩ කරන්න ගත්තෙ. මොකද ඒ වගේ දේවල් ඒ අය කරනව කියල මම මුල ඉඳන්ම දැනගෙන හිටපු නිසා, මමත් ඒ දොස් කප කපා තමයි වැඩ කටයුතු කරගෙන ගියේ.

ඒ කාලෙ ඉතින් මම රත්රන් තහඩුවල ඇඳල ලක්ෂ වාරයේ ජීවම් එහෙමත් කළා. ඒ කියන්නෙ, විශේෂයෙන් බෞද්ධ ගුණධර්මවල යෙදිල ඉන්න අයට, රෝග බය, දුර්භික්ෂ බය, අමනුස්ස බය ආදිය නැති වෙලා ජයග්‍රහණයට හේතු වෙන විදිහට බුදු බලයෙන් ලක්‍ෂ වාරයක් ශක්තිය පිහිටෙව්වා. ඒවා විශේෂ ජීවමක් විදිහට රත්රන් තහඩුවල ඇඳල රත්රන් සුරවල දාල රත්රන් මාලවල අමුණල ඒ අයට පළඳින්න දුන්නා. එහෙම එකක් හදාගත්තම ජීවිතාන්තය දක්වාම ඇති. ඒත් එක්කම මුදු වැලි, සුවඳ දුම් කූඩු, සෙත් පැන් සහ පොල්තෙලුත් ජීවම් කළා. ඒව ඔක්කොම එකට තියල තමයි නව ගුණවලින් ජීවම් කළේ.

ඒ විදිහට ලක්‍ෂ වාරයක් ජීවම් කරනකොට තෙල් බෝතලය සම්පූර්ණයෙන්ම ආලෝකමත් වෙනවා. ඒ ආලෝකයෙන් බුදුන් වහන්සේගෙ ශරීරය නිර්මාණය වෙලා පේනවා. ඊට පස්සෙ අපේ ශරීරයත් ඒ ආලෝකය තුළින්ම පේන්න ගන්නවා. ඒ දර්ශන රූපවාහිනී තිරයකින් පේනව වගේ තෙල් බෝතලයේ වීදුරුවෙන් මස් ලේ ඇහැටම පේනවා. දොස් නැති කාලෙ හිටපු විදිහට ප්‍රියමනාපව කුමාර විලාසයකින් හෝ හාමුදුරු නමක් වගේ හොඳට ප්‍රබෝධමත්ව ආසනයක ඉන්නව වගේ තමයි පේන්නෙ. ඒ කියන්නෙ මේ කොඩිවින, සාප කිරීම් ආදිය කරල මාව අසනීප වෙන්න පෙර නිරෝගීව ඉන්න කාලයේ ඒ වගේ හොඳ පැහැපත් ශරීරයකින් ඉන්න විදිහට තමයි පේන්න ගත්තෙ. ජීවම ශරීරයට සිද්ධි වුණාම ඒ වගේ තමයි පේන්නෙ. ඒත් එක්කම ඒ වටා ලස්සන ප්‍රියමනාප පරිසරයකුත් හැදිල පේනවා. ඒ වගේ ජීවම් කරන අතරෙදිත් ඒ අය මට කොඩිවින කළා. ඒ අවස්ථාවල මම ඒ දොස් කපාගෙන ගියත් කොහොම හරි එක වතාවක් ඒ දොස් කපාගන්න බැරි වුනා. මොකද ඒ කොඩිවිනය ඒ තරම් බලවත්. ඒ කියන්නෙ ඒ දෝසය එක්තරා මට්ටමකට කැපිල ගිහින් ඉතිරි ටික තමයි බලවත් වුනේ.

දැන් ඉතින් මට තේරෙනවා, කවුරුහරි කෙනෙක් මගේ ඔලුවට කකුල තියල පහත් කරගෙන බෙල්ල පාගනවා. එතකොට බෙල්ල පැත්තකට යනවා. බෙල්ල ඇද ගහල. හැබැයි ඒ කාරණය දැක්කෙ සමාධියෙන්. මම ඔලුව කෙලින් තියාගෙන නෑ, ඔලුව පොඩ්ඩක් පැත්තට හැරෙනවා. මම බෙල්ල කෙලින් කළත් ☞

ඇද වෙලා තමයි දර්ශනයෙන් පේන්නෙ. ඒක හඳන්න බෑ. එහෙම වුනේ මොකද කියල බලනකොට, යම් කිසි බලවේගයක් ඔලුවට කකුල තියල පැත්තට තද කරල තියාගෙන ඉන්නව දැක්කා. ඒ කියන්නෙ මට ඔලුව උස්සන්න දෙන්නෙ නෑ කියන එක. මම දැන ගත්තා, මාව මෙල්ල කරන්න මොනව හරි කරනව කියල. ඒ ඔලුව හිර කිරීම තවමත් එක්තරා මට්ටමකට තියෙනවා.

ඊට පස්සෙ මට සමාධියෙන්ම දැනුම් දුන්නා, මෙන්න මෙහෙම තැනක මෙහෙම දෙයක් කරනව කියල. ඒක පෙන්නුවෙ ජලයෙන් වට වෙච්ච දූපතක් ආශ්‍රිත දේවාලයක කරන්නා වූ සාප කිරීම් සහිත කොඩිවිනයක් විදිහට. ඒ කියන්නෙ, මොනව හරි සාසන විරෝධී දේවල් කරල මම භික්ෂූන් වහන්සේලාට විරුද්ධව කටයුතු කරනවා, ඒ නිසා මාව වනසල දාන්න කියල. එතනදි ඒ කාරණය ඇත්තද නැත්ද, යුක්ති සහගතද සාධාරණද කියල ඒ මුකුත් බලන්නෙ නෑ. මිත්‍යා දෘෂ්ටික අමනුස්සයො ඒ අය දෙන දොළපිදේනි අරගෙන කියන ඕනම දෙයක් කරන්න පෙළඹෙනවා. ඒ අය තෙරුවන් ගුණ ගණන් ගන්නෙ නෑ. උන්ට එළුවෙක් කුකුලෙක් දීල අහවල් දේ කරපන් කිව්වොත් ඒක අරගෙන ඒ කිව්ව දේ කරනවා. උඹට එළුවෙක් දෙන්නම් අහවල් එකා රැකපන් කිව්වොත් ඒකත් කරනවා. තව කෙනෙක් එළුවො දෙන්නෙක් දෙන්නම් අහවල් එකා මරපන් කිව්වොත් ඒකත් කරනවා. ඔය විදිහට හොරකම් කරපු එවුනුත් ඇවිත් මොනව හරි දොළ පිදේනියක් දීල ආරක්ෂාව ඉල්ලනවා. දොළ පිදේනි දෙනව නම් ඒ අයට කවුරු වුණත් කමක් නෑ. ඒ ජාතියේ එවුන්.

ඉතින් හාමුදුරුවරු තමයි ගිහි අයගෙත් සහයෝගය ඇතිව ඒ සාප කිරීම් සහ කොඩිවිනය කළේ. ඒකට ප්‍රතිවිරුද්ධව යම් කිසි ප්‍රතිකර්මයක් විදිහට රෑ දවල් ජීවම් පහන පත්තු කරන්න කියල සංඥාවකින් මට දැනුම් දුන්නා. ඒක නව ගුණ බලයෙන් දොස් කපා ගන්න දීපු ජීවමක්. ඒකට ගත්තෙත් අර යන්ත්‍ර ජීවම් කරන්න ගත්තු ජීවම් පහනමයි. වෙන අමුතුවෙන් ක්‍රමයක් ඕන වුනේ නෑ. ඒ ජීවම් පහනෙන් මට එන දෝසත් කැපෙනවා. යන්ත්‍ර ජීවම් කිරීමත් සිද්ධ වෙනවා. වැඩ දෙකම සිද්ධ වෙනවා. සබ්බීතියෝ විවජ්ජන්තු සබ්බ රෝග විනස්සතු... ආදී වශයෙන් කියන ඒ ගාථා ටිකත් අරගෙන තමයි ඒ ජීවම කළේ. ඒ වගේ දෙයක් අනෙක් අයටත් ඕන නම් කර ගන්න පුළුවන්. (හෙළ බොදු පියුම 13, 14 කලාපවල සඳහන් කරල තියෙන ආකාරයට).

ඉතින් මම ඒ ජීවම් පහනක් උදේ හවස පත්තු කරල තිව්වා. පුළුවන් තරම් දොස් කපාගෙන යන්න කියල තමයි එහෙම දැනුම් දුන්නෙ. එහෙම නැත්නම් ඉතින් මාව විනාස වෙන්නමයි ඒක කරල තියෙන්නෙ. විනාස නොවී ඔය මට්ටමින් බේරුණේ අපි කරපු ප්‍රතිකර්මවලින් දොස් කපාගෙන ගිය නිසා. නමුත් ඒ සාප කිරීම විතරක් කපා ගන්න බැරි වුනා. ජීවමෙන් කොච්චර සුදු කිරණ නැගිල ආවත් අර සාප කිරීමෙන් හෝ ගාල කළු කිරණ එන්න ගත්ත නිසා ඒ ආපු වේගයට දරාගන්න බැරි වුනා.

අන්තිමට සමාධියෙන් දැනුම් දීපු විදිහටම ඒ කොඩිවින සහිත සාප කිරීම්වලට අමතරව ඒ අය මට මොනවහරි විසක් දුන්නා. මොකද ඒ දවස්වල අපේ දායකයො කඩෙන් ආප්ප ගේනවා. ඔය අතර සමහරු බිත්තර ආප්පත් ගේනවා. ඉතින් මම අහනවා, කොහොමද මේ බිත්තර ආප්ප කඩෙන් ගන්නෙ කියල. කලින් හදල තියෙන ඒවා මිසක්, කියල හදාගන්න ඒවා නෙවෙයි කියනවා. මම කියනවා, එහෙමනම් කමක් නෑ, කියල දාගන්න එහෙම එපා කියල. මොකද එතකොට බිත්තර කඩන්න ඒ අයත් අනුබල දුන්න වෙන නිසා ඒ අය ඒකෙන් අවැඩක් කර ගන්නවා. හැබැයි පසු කාලයක ඒ විදිහට කලින් සකස් කරපු බිත්තරත් අසාධාරණයෙන් හදන දෙයක් කියල වැටහිච්ච නිසා දයානුකම්පාව මුල් කරගෙන ඒවත් සම්පූර්ණයෙන්ම නැවැත්තුවා. මොකද බිත්තරයක් නිකං හැදෙන්නෙ නෑ. ඔය මොන බිත්තරය ඇතුලෙත් ජීවයක් තියෙනවයි කියන කාරණය එදත් මම දැනගෙන හිටියා. පාම් බිත්තර වුනත් එහෙමයි. කර්ම ශක්තියේ බලවත්කම නිසා ඒ සඳහා අවශ්‍ය පෝෂණය දුබල වීමෙන් තමයි ජීවියා බිහි වෙලා එළියට නොඑන්නෙ. (මේ පිළිබඳ විශේෂ විස්තරයක් හෙළ බොදු පියුම 10 කලාපයෙන් ඉදිරිපත් කරල තියෙනවා.)

කොහොමහරි ඉතින් ඔය ගෙනාපු ආප්පවලට දාල තමයි මොනව හරි විසක් දීල තිබුනෙ. ඒක යම් කිසි සතෙක්ගෙ කටු සියුම්ව කුඩු කරල හදපු විසක්. ඒක ගිහින් මහ බඩවැලේ ගුදිරි අතර ඇලුනම ලේසියෙන් ගැලවෙන්නෙ නෑ. ලාටුව වගේ බැඳෙනවා. මම ඒ දොස් කපන කොට ඒ දීපු විස ශරීරයට බැඳිල තියෙන හැටි, ගැළවෙන හැටි ඒ ඔක්කොම පේනවා. ඒ කියන්නෙ විනරාජ කසාය වගේ මොනව හරි විශේෂ බේතක් බොනකොට තමයි ඒ විසෙන් කොටසක් හරි ගැළවෙන්නෙ. ඒත් සියල්ල ගැළවුණේ නෑ, කොටසක් ඉතිරියි. ඒ දීපු විසක් ගිහින් මගේ තුනටිය ළඟ බැඳුනා.

ඉතින් ඒ පළාතෙ හාමුදුරුවරු ළඟ ඉන්න දායකයො මා ළඟටත් එනවා. ඇවිත් අපි කතාබහ වෙන ඒවා අහගෙන ඉඳල ඒ හාමුදුරුවන්ටත් ගිහින් කියනවා. අන්තිමට මම සාධාරණ විදිහට වැඩ කටයුතු කරගෙන යන එක ඒ අයට ප්‍රශ්ණයක් වුනා. ඉතින් ඒ අය මට අහිතවත් වුනා. මොකද ඒ අය අවුරුද්දකට සැරයක් පිරිතක් කියන්න කියල ගමේ මිනිස්සුන්ගෙන් සල්ලි එකතු කරනවා. එහෙම එකතු කරල ඔය මොනවහරි පිරිතක් කියල ඒ අය කාල බීල නටනවා. ඒ වගේම ඒ ස්ථානයේ ප්‍රතිමා වහන්සේ නඩත්තු කරන්නත් ගමේ අයගෙන් සල්ලි එකතු කරනවා. ඒවත් සේරම ඒ අය කනව බොනවා. ඒ කියන්නෙ හැමෝම නෙවෙයි. එක්තරා සුළු ගිහි පිරිසක් තමයි ඒ වැඩේ කරන්නෙ. සාසනික කටයුතුවලට ලැබෙන මුදල්වලින් ඒ අය අයුතු ප්‍රයෝජන ගන්නවා. ඒවායින් ඒ අය අවැඩක් කර ගන්නවා.

ඉතින් මම ආවට පස්සෙ ඒවා කරන්න බැරිව ගියා. මොකද ගමේ මිනිස්සු ඒවට සල්ලි දෙන්නෙ නැතුව ඇරියා. දැන් මහත්තය ඉන්නවනෙ, මහත්තයනෙ ඒව කරන්නෙ, මහත්තයට කියල කරමු කියල ගමේ මිනිස්සු කියනවා. අන්තිමට පිරිත කියන එක නවත්වල මගේ මූලිකත්වයෙන් බෝධි පූජාවක් තිව්වා. ඒක විශේෂ පටිභාන කාව්‍යමය බෝධි පූජාවක්. හැබැයි පිරිත් කියපු දායකයො කියන්න ගත්තා, අපිට මොනවහරි කරදරයක් වුනොත් අපි බලා ගන්නම් කියල. පිරිත නොකර බෝධි පූජාව කළා කියල තමයි එහෙම කිව්වෙ. කොහොමහරි ඉතින් පළවෙනි බෝධි පූජාව කළාට පස්සෙ ගමටම කිරි ඉතිරෙන්න, ☞

හරියන්න පටන් ගත්තා. ඒකෙන් පස්සෙ මාත් එක්ක මුලදි විරුද්ධ වෙච්ච පිරිසත් බොහොම හිතවත් වුනා.

හැබැයි ඔය අතර දෙපැත්ත කන අයත් එක්කෙනෙක් දෙන්නෙක් හිටියා. බොහොම හිතවත්ව ඉඳල ඒ අය තමයි ආප්ප, කිරි කොස්, දූරියන් ආදිය දානෙට ගේන්නෙ. ඒවත් එක්ක කවලම් කරල තමයි විස දාල තිබුණෙ. එකකට නෙවෙයි කිහිපයකටම ජීවම් කරල දාල තිබුණා. ඒ දවස්වල මම අපේ පුතාටයි ඔහුගෙ වයසෙ තවත් ළමයින්ටයි එරමිණිය ගොතාගෙන හරියට ඉඳග න්න හැටි කියල දුන්නා. ඒත් එදා මම එරමිණිය ගොතාගෙන ඉඳගන්න බැලුවම මට කලින් වගේ ඉන්න බැරිව ගියා. තුනටිය ළඟ ඉවසන්න බැරි තරමට රිදෙන්න ගත්තා. ඒ ස්ථානය ගුලි ගැහිල හිරවෙන්න ගත්තා. සමාධිය නැගෙන්නෙ නැතිව ගියා. ඊළඟ දවසෙ ඉන්න බැලුවත් ඒත් බැරි වුනා. වම් පැත්තෙ යටි බඩේ කකුල කෙළින් හිර වෙලා වගේ කොරයක් එන්න ගත්තා. පස්සෙ මම මොකද කියල බලනකොට, ඒ ස්ථානයේ ලොකුවට ගෙඩියක් වගේ වායුවක් එනවා. ඒ වායුව හැඳිල උඩට ගහල බෙල්ල ළඟින් ලොකුවට ඉලිප්පෙනවා. සමාධි දර්ශනයෙන්ම දැනුම් දුන්නා, අර සාප කිරීම් සහ වස දීමේ ප්‍රතිඵලයක් විදිහට ඉදිරියේදි ඒ පැත්ත හිර වෙනව කියල. ඒ ගැටළුව දැනුත් එක්තරා මට්ටමකට තියෙනවා. ඉතින් මුලදි ඒ ගැටළුව එන්න එන්නම වැඩි වුනා. මුල් අවස්ථාවෙ ඒක අඳුනගන්න බෑ. මට කරන්න දේකුත් නෑ. මම ඉතින් සාමාන්‍ය ප්‍රතිකර්ම කිහිපයක් කළත් ඒ එකක්වත් හරි ගියේ නෑ.

ඊට පස්සෙ තවත් අවස්ථාවක කැමත් එක්ක ටියුබ් ලයිට් කුඩු දාල දුන්නා. ඒකනම් සිද්ධ වුණේ අපේ ගම් පළාතෙමයි. දවසක් සිංහල අලුත් අවුරුදු කාලයක අවුරුදු කෑමකට එන්න කියල තමයි ඒ වගේ විසක් දුන්නෙ. ඒක ගත්තට පස්සෙ තමයි මට තේරුණේ මොනවහරි විසක් දාල කියල. මම ඒක ගන්නව තවත් මගේ ඥාතියෙකුත් දැකල තිබුණා. ඊළඟ දවසෙ අපේ ළමයෙක් පාසල් ගිහින් ගෙදර එනකොට ඔහු අහල තිබුණා, ඊයෙ තාත්තට අසනීප වුණේ නැත්ද කියල. ඉතින් ළමය කිව්වම, එහෙම මුකුත් නෑ කියල, මුකුත්ම දැන ගන්න තිබුණෙ නැත්ද කියල ආයෙත් ඇහුවලු. එහෙම නිකං අහන්න හේතුවක් නෑ. පස්සෙ තමයි මට සමාධියට යොමු වුණේ, මේ වගේ විසක් දීපු බව. ඒ කියන්නෙ ටියුබ් ලයිට් එකක් කළු වුණාම ඒකෙ ඇතුලෙ තියෙන අළු. ඒක හරි විසයි. අඩි ගණනාවක් පොළොව යට වළ දමන්න කියල තමයි කියන්නෙ.

ඊට පස්සෙ ඒක අහක් වෙලා, මහණ වුනාට පස්සෙ නැවතත් දානෙට දාල ඒ වගේ වසක් දුන්නා. අන්තිමට වකුගඩු නරක් වෙන්නත් ඒක හේතු වුණා. ගමේ අයට පිණ්ඩපාතෙ දෙන්න, දානෙ දෙන්න අවස්ථාවක් ලබා දෙන්න ඕන කියල, මහණ වුනාට පස්සෙ මම



පිංකමක් ආරම්භ කිරීමට පෙර
මහා සංඝ රත්නයේ අවසර ලබාගනිමින්

ටික කාලයක් ඒ ප්‍රදේශයේ හිටියා. ඒ අවස්ථාවෙ ඒක දඩමීමා කරගෙන තමයි දානෙත් එක්ක වස දාල ගෙනත් දුන්නෙ. හැබැයි ඒක පෙනී පෙනී ප්‍රසිද්ධියේමයි ගෙනාවෙ. වහ වුනත් කමක් නෑ, පැවිදි වුනේ ඊකෙන්න නෙවෙයි නිවන් දකින්න, ඒ නිසා කැමති කෙනෙක් ඉන්නවනම් ඉතින් කරපුවාවෙ අසත්පුරුෂයොනෙ, මට කමක් නෑ මැරුණොත් මළාවෙ මම මේ දානෙ ගන්නව කියල, දානය දීපු අයටත් පින් අනුමෝදන් කරල තමයි මම දානෙ ගත්තෙ.

හැබැයි මම එහෙම කියන කොටත් ඒ දානෙ ගෙනාපු අය අඬ අඬා තමයි දානෙ දුන්නෙ. ඒත් නිකමටවත් කිව්වෙ නෑ ඕක ගන්න එපා කියල. අන්තිමට ඒ අය දානෙ දීල මම වළඳන කොට අහක බලාගෙන කඳුලු වැක්කෙරුවා. පස්සෙ එතන හිටපු මහත්තයෙක් ඇවිත් ඒක නවත්වන්න බැලුවා. නමුත් එතකොට මම දානෙ වළඳල ඉවරයි. පස්සෙ ඒ අයත් මොකද කළේ, හාමුදුරුවන්ට වෙන දෙයක් අපිටත් වෙච්චාවෙ කියල ඒ ඉතිරි වෙච්ච දානය ඒ අයත් ගත්තා. ඉතින් ඒ විදිහට ඒ දානය ගත්තු තවත් 3 - 4 දෙනෙකුටත් බෙල්ල හිරවෙන අමාරුව තිබුණා. කොහොමහරි අපිත් එක්ක ඒ වැඩ කටයුතුවලට සම්බන්ධ වෙලා හිටපු හාමුදුරුවරු ඇතුළු සියල්ලන්ටම ඒ දානෙ කැවිල ඒ ප්‍රශ්නය බලපාල තිබුණා. තවමත් සමහර අයට ඒ අමාරුව තියෙනවා. එතනදි මාව ප්‍රධාන වෙලා තියෙනවා.

නම් ගම් කියන්න හොඳ නැති නිසා ඒ අයගෙ අනන්‍යතාවය හෙළිදරව් නොකළත්, අන්තිමට බලනකොට ඒකට සම්බන්ධ වෙලා හිටපු අයගෙන් එක හාමුදුරු නමක් සිහි නැති වෙලා අවුරුද්දක් විතර ඉඳල මොළේ මැරිල අපවත් වුනා. තවත් භික්ෂූන් වහන්සේ නමක් නහරයක් පුපුරල අපවත් වුනා. තවත් නමක් හොයා ගන්න බැරි විදිහට බල්ලෙක් හපා කාල ජලභීතිකා රෝගය හැදිල දවස් 2-3 ක් ඉඳල අපවත් වුනා.

අර දානෙට වස දාල දීපු මනුස්සය කොස් ගහකින් වැටිල කකුල කැඩිල සෑහෙන කාලයක් දුක් වින්දා. අන්තිමට මම මහණ වුනාට පස්සෙ ඒ ප්‍රදේශයේ පවත්වපු බෝධි පූජාවකට මේ මනුස්සය කොහොම හරි ගාට ගාට ඇවිත් ඊළඟට හොඳට ඇඬුවා. ඒ පාර මනුස්සය ගමේ අයත් එක්ක කියල තිබුණා, හාමුදුරුවන්ගෙ සිල්වත්කම ගුණවන්තකම බලන්න, මම මෙච්චර කල් නැගිට ගන්න බැරිව වැටිල හිටියෙ, ඊයෙ මම බෝධි පූජාවටත් බොහොම අමාරුවෙන් ගියේ, මම දැන් ගමේ හැම තැනම යනවා, මට දැන් අමාරුවක් නෑ කියල.

තව මනුස්සයෙක් හිටියා ඔහු දෙපැත්තටම කේළම් කිය කිය ඉඳල අන්තිමට ඉදිමිලා මළා. හැබැයි අපට ගෙනත් දීපු දානෙ කැවිල

ඒක විස වෙලා මළාද, වෙන එකකින් මළාද කියන්න දන්නෙ නෑ. ඔහු ඒ වස දාපු කටයුත්තට සම්බන්ධ වුනාද කියන්න දන්නෙත් නෑ. හැබැයි ඔහු අපිත් එක්ක සම්බන්ධ වෙලා හිටපු කෙනෙක්.

ඒ වගේම අපි සාසනික කටයුතු කරගෙන හිටපු ස්ථානය ලියාපදිංචි කරන්න සම්පූර්ණයෙන්ම බාධා කරපු මනුස්සයෙක් හිටියා. ඔහු තමයි ඒ වටේ පන්සල්වල දායක මණ්ඩල පාලනය කළේ. ඔහුට පපුවෙ අමාරුවක් හැදිල අන්තිමට සෙත් ශාන්ති කරලත් ගොඩ දාන්න බැරුව ගියා. මනුස්සය ධම්ම පදය පොතත් අතේ තියාගෙන කියව කියව ඉන්නකොට පොත පපුව උඩ තියාගෙනම මළා.

ඉතින් මේ වගේ ඒ සාසනික කටයුතුවලට විවිධාකාර ක්‍රමවලින් අකුල් හෙළල බාධා කරපු අයගෙ මරණින් මතු උප්පත්තියත් ඒ දවස්වල මට යොමු වුනා. බලනකොට ඒ මියගිය අයගෙන් කවුරුවත් සුගතියක නෑ. ඔක්කොම සතර අපායෙ තමයි උප්පත්තිය ලබල තියෙන්නෙ. මිනිස්සු බහුතරයක් නිකං පුද්ගලික දේවල්වලටත් රාග, ද්වේශ, මෝහ මුල් කරගෙන ගැටිල අපාගත වෙනව නම්, සාසනික කටයුතුවලට බාධා කරල අපාගත වෙනවයි කියන කාරණය පුදුම වෙන්න දෙයක් නෑ.

ඒ නිසා මේ වගේ දේවල්වලින් අද ඉන්න අයත් පාඩම් ඉගෙන ගන්න ඕන. **අනන්ත සංසාරයේ අති දුර්ලභව මතු වන්නා වූ බුද්ධ සාසනයක ඒ සාසනික කටයුතුවලට ගරහනව, බාධා කරනව කියන්නෙ පොඩි පහේ පාපයක් නෙවෙයි. බෝධි පූජාවකටවත් එහෙම ගරහන්න, බාධා කරන්න හොඳ නෑ. ඒකෙ පාපය බරපතලයි.** අනෙක මේ සාරා සංඛ්‍ය කල්ප ලක්ෂයක් පෙරුම් පුරල බෝසතාණන් වහන්සේ නමක් ලොව්තුරා බුද්ධත්වයට පත් වෙලා මතු කරපු මහා ධර්මස්කන්ධය යටපත් වෙලා ගිහින් නැවතත් නැගී එන කාලයක්. විශේෂයෙන් නිවන් දකින දහම නැවත මතු වන කාලයක්. මනුස්සයින්ට එහෙම අවස්ථාවක් ලේසියෙන් ලැබෙන්නෙ නෑ. කාට වුනත් ඒ වගේ අවස්ථාවකට සහසම්බන්ධ වෙලා බණ පදයක් අහන්න ලැබෙනව කියන්නෙ, අනන්ත සසරෙ කරපු මහා ලොකු වාසනාවක් පෑදීමක්. ඒ නිසා කවුරු කළත් ඒ වගේ සාසනික වැඩ කටයුතුවලට බාධා කරන්න යෑම ලේසියෙන් ගෙවා ගන්න බැරි පාප කර්මයක් කියන කාරණය තේරුම් ගන්න ඕන.

ඉතින් මේ සාසනය විනාස කරන්නෙ පිටින් එන පිරිස් නෙවෙයි, මේ සාසනය ඇතුලෙම ඉන්න අය කියන බුද්ධ දේශනාවත් මෙතනදි සනාථ වෙනවා. මොකද මම ගිහි වතක හිටියත් බුදුන් වහන්සේගෙ දේශනාවට අනුව නිවන මුල් කරගෙන තමයි ඒ හැම කටයුත්තක්ම කළේ. සෙත් ශාන්තිවලින් මිනිස්සුන්ට ලෞකික ජීවිතයේ තිබ්බ්ච කරදර බාධක දුරු වුනෙත් ඒ අනුගමනය කරපු ධර්මානුකූල ක්‍රමවේද නිසා. ඒවත් කවද හරි නිවනින් කෙළවර වෙන්න උපනිශ්‍රය වෙන විදිහටයි කළේ. ඒ එකක්වත් කිසිම කෙනෙකුට අවැඩක් අසාධාරණයක් කරපු ඒවා නෙවෙයි, කවදහරි නිවනට උපකාර වන විවිධ පූජා කටයුතු උපයෝගී කරගෙන, කෙනෙක් මේ සාසන මගට ගෙන එන වැඩපිළිවෙලක් ඔස්සේ තමයි ඒ සියලු කටයුතු දියත් කළේ. නමුත් ඒ වගේ සාසනික කටයුතුවලට අන්තිමට විරුද්ධ වුනෙත් අපේ භික්ෂූන් වහන්සේලාමයි. උන්වහන්සේලාගේ මෙහෙයවීම් මත තමයි සමහර ගිහි අයත් විරුද්ධ වුණේ. තමන්ට ලැබෙන ලාභ කීර්ති ප්‍රසංසා නැතිවෙයි කියන බයට තමයි එහෙම කළේ. නමුත් සිවුරක් දාගත්තෙ මේ සියලු දුක් කරදර නැතිවෙන්න නිවන් දකින්න කියන අදහසින් නම්, උන්වහන්සේලාට ඒ වගේ විරුද්ධකම් නෙවෙයි කරන්න තිබුණෙ, තමන්ගෙ තියෙන මොනවහරි අඩුපාඩු හොයාගෙන ඒවා නිවැරදි කරගෙන, තමන් වටා ඉන්න පින්වතුන්ටත් යහපතක් වෙන්න ඒ වගේ පුණ්‍ය කටයුතුවලට ඉඩ ප්‍රස්ථාව සලසා දීමයි කරන්න තිබුණෙ.

එහෙම නැත්නම් බාධා නොකර නිහඬව ඉන්න තිබුණා. මොකද මම ඒ පූජනීය ස්ථාන මුල් කරගෙන මගේ පුද්ගලික කටයුතු කළා නෙවෙයි, හැමෝගෙම පොදු යහපතට හේතුවෙන විදිහටයි සියලු කටයුතු කළේ. ඉතින් ඒ පූජනීය ස්ථානවල වැඩ ඉන්න භික්ෂූන් වහන්සේලාටත් ඒකෙන් යහපතක්මයි සිද්ධ වෙන්නෙ. නමුත් ඒ කාරණය සමහර භික්ෂූණ් වහන්සේලාටත්, ගිහි අයටත් තේරුම් ගන්න බැරි වුනා.

අනෙක ඒ වගේ පූජනීය ස්ථානයක මේ සෙත් ශාන්ති, බෝධි පූජා ආදී සාසනික කටයුතු කරන්න කියල මට ආරාධනාවක් ලැබුණම, මම ඒ ස්ථානයේ වැඩ ඉන්න ඒ භික්ෂූන් වහන්සේලාට වැඳ නමස්කාර කරල අවසර අරගෙන ඒ ගෞරවය දීලමයි එදත් ඒ කටයුතු කළේ. එහෙම නැතුව කවදාවත් හාමුදුරුවන්ට දොස් කියල පහර ගහල උන්වහන්සේලා කොන් කරල මම නායකත්වයක් අරගෙන ඒ කටයුතු කළේ නෑ. පහනක් පත්තු කරන්න වුනත් ඉස්සෙල්ලම ඒ ස්ථානයේ ඉන්න නායක හාමුදුරුවන්ට, අනු නායක හාමුදුරුවන්ට.... ආදී වශයෙන් පිළිවෙලින් ආරාධනා කරල මුල් තැන දීලමයි ඒ කටයුතු කරන්න පටන් ගත්තෙ.

ඉතින් මම කාටවත් කරදරයක් නොකර මට ලැබිච්ච ශක්තියෙන් ඒ සාසනික කටයුතු කරගෙන ගියත් ලාභ, කීර්ති, ප්‍රසංසාවලට යට වෙච්ච අය ඒකට බය වුනා. මේ කෙටි කාලයකට ලැබිච්ච මනුස්ස අත්භවය යහපත් විදිහට ප්‍රයෝජනයට අරගෙන, මේ සසර කතරෙන් එතෙර වෙන්න ඕන කියන අදහස නෙවෙයි ඒ හුගක් අයට තිබිල තියෙන්නෙ. ඒ නිසා ඒ වගේ දේවල්වලට යටවෙලා නිකරුනේ ඒ අය විනාස වුනා. මගේ තිබිච්ච කර්ම විපාකවලට අනුව ඒ අයගෙ කරදර හිරිහැරවලට ලක් වෙන්න මටත් සිද්ධ වුනා. තවමත් ඒවායේ විපාක මම විඳවනවා. ඒත් මම ඒ අයට වෛර කළේ, සාප කළේ නෑ. දොස් කිව්වෙත් නෑ. මේ අනන්ත සසරෙ එනකොට කර ගත්තු කර්ම වේග කොයි විදිහට විපාක දෙනවද කියල අපි දන්නෙ නෑ. ඒ නිසා වෙච්ච සිද්ධිය මේ විදිහට කිව්වෙ, අනෙක් අයටත් මේ වගේ දේවල් වෙන්න පුළුවන් නිසා, මේ සසරෙ භයානකත්වය තේරුම් අරගෙන ප්‍රවේසමෙන් කටයුතු කරන්න කියන කාරණය දැනුම් දෙන්න.

සටහන

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# තුන් සිත පහදා දන් දීමේ අනුහස්

**පෙළ දහමින් නිවන් මග - 01**



ලොවිතුරා බුදුන් වහන්සේ ශ්‍රී මුඛයෙන් දේශනා කොට වදාළ අසූ හාරදහසක් ධර්මස්කන්ධය, සිවුපිළිසිඹියාපත් අරිහතුන් වහන්සේලා විසින් කිසිම අඩුපාඩුවක් නැතිව කාලයක් මුඛ පරම්පරාවෙන් ගෙනාවා. උන්වහන්සේලා ඒ මුඛ පරම්පරාවෙන් ගෙනා ධර්මස්කන්ධය එක්තරා කාලයක ග්‍රන්ථාරූඪගත කළා. ඒ කිව්වෙ පොත්වල ලිව්වා. මේ ලියපු පොත් පෙළට තමයි ත්‍රිපිටකය කියන්නෙ. පාලි ත්‍රිපිටකය තුල ලොවිතුරා බුදුන් වහන්සේ දේශනා කළ නිවන් දකින දහම සාරාංශ වශයෙන් ගත්තම කිසිම අඩුපාඩුවක් නැතිව අදටත් තියෙනවා. ඒවා විශාල, මධ්‍යම සහ කුඩා වශයෙන් කොටස්වලට වෙන්කරල සාරාංශ කරල තියෙන්නෙ. මේ සාරාංශ කරපු කොටස්වලට සූත්‍ර කියල කියනවා.

මේ ලිපි පෙළින් කියන්න යන්නෙ, නිවන් දකින්න අවශ්‍ය මූලිකව පෙළ ගස්සපු සූත්‍ර ගැන. ඒ හැම සූත්‍රයක්ම පාහේ පටන් ගන්නෙ ''ඒවං මේ සුතං කියල. සරල සිංහල තේරුම එන්නෙ''මා විසින් මෙසේ අසන ලදී'' කියල. එහෙම නැත්නම්, මම අහගත්ත විදිහ අනුව සූත්‍රය මෙහෙමයි කියල පටන් ගන්නෙ. අරිහතුන් වහන්සේලා අතින්ම සංගායනා කරල රැකගෙන ආ නිසා, එහෙම අහගත්ත දේ කියල කිව්වත් කිසිම අඩුපාඩුවක් මේ සූත්‍රවල නෑ.

ඉතින් මුලින්ම කියන්න යන්නෙ මජ්ජිම නිකායේ එන දක්ඛිණා විභංග සූත්‍රය ගැන. දක්ඛිණ කියන්නෙ දානය කියන එක. විභංග කියන එකේ තේරුම තමයි, බෙදල විභජනය කරල පෙන්වනව කියන එක. උපමාවක් කියනව නම්, තමන් ළඟ තියෙන මෝටර් රථයක් ඇතුලෙ මොනවද තියෙන්නෙ කියල බලන්න, එක එක කොටස වෙන් කරල බලනව වගේ. එතකොට අපට පේනවා, මේ මෝටර් රථය කොහොමද හදල තියෙන්නෙ කියල. ඒ අනුව දක්ඛිණා විභංග කියල කිව්වම, ගුණය අනුව ඒ ඒ කෙනාට දානයක් දුන්නම ලැබෙන ප්‍රතිඵල ගැන විස්තරයක් තමයි මේ සූත්‍රයේ තියෙන්නෙ. කොටින්ම කියනව නම්, අපි එදිනෙදා දන් දෙනකොට එන ප්‍රශ්නවලට මැනවින් දීපු උත්තර මාලාවක්.

කෙනෙක් කියන්න පුළුවන්, ඇයි මේ හාමුදුරුවන්ටම කන්න බොන්න දෙන්නෙ? කන්න බොන්න නැති අය කොච්චර ඉන්නවද? හාමුදුරුවන්ට දෙනවට වඩා අර කන්න නැති කෙනෙකුට දුන්නම මොකද වෙන්නෙ? හාමුදුරුවන්ට ඕන තරම් ලැබෙනවනෙ... මේ ආදී වශයෙන්. ඒ වගේම තව කෙනෙක් කියන්න පුළුවන්, හිඟන්නන්ට දෙන්න ඕන නෑ අපි මහළු නිවාසෙකට හරි ළමා නිවාසෙකට හරි දෙමු, ඒකෙ පින වැඩියි කියල. එහෙම නැත්නම්, තියෙන කෙනෙකුට වඩා නැති කෙනෙකුට දුන්නම තමයි පින් වැඩි වෙන්නෙ කියල. ඉතින් කාටද දෙන්නෙ කියල තෝර ගන්න බැරිව, දන් දෙන්න මූලික වුන කෙනා අසරණ වෙච්ච අවස්ථා කොච්චර ඇත්ද? ඔය ප්‍රශ්න සේරටම අවශ්‍ය පිළිතුරු, සියල්ල සියලු ආකාරයෙන් දැකල තුන් කල් දකින ඥානයෙන් දේශනා කළ දක්ඛිණ විභංග සූත්‍රයේ තියෙනවා.

මේ සූත්‍රය දේශනා කරන්න මූලික වෙච්ච කාරණයක් තිබුනා. ඒ කාරණය තමයි මහා ප්‍රජාපතී ගෝතමී තෙරණිය බුදුන් වහන්සේට පූජා කරන්න කියල තමන් විසින්ම හදපු වස්ත්‍ර යුවළ. ඉතින් එතුමිය මේ වස්ත්‍ර යුවළ අරගෙන ඇවිත් බුදුන් වහන්සේට වැඳ නමස්කාර කරල මෙහෙම කියනවා. ''ස්වාමීනි, මාගේ මේ අළුත් වූ වස්ත්‍ර යුවළ භාග්‍යවතුන් වහන්සේ උදෙසා මා විසින්ම කටින ලදී. මා විසින්ම වියන ලදී. ස්වාමීනි, භාග්‍යවතුන් වහන්සේ මාගේ ඒ වස්ත්‍ර යුවළ අනුකම්පා පිණිස පිළිගන්නා සේක්වා.'' ඉතින් ඇවිත් කිව්වෙ, මේක මගේ අතින්මයි මැහුවෙ, ඔබ වහන්සේටමයි ගෙනාවෙ, මා ගැන අනුකම්පා කරල මේ පූජාව බාරගන්න කියල. අපිටත් ඔය ජාතියෙම අදහස් ඕන තරම් ඇවිත් ඇති. ලොකු හාමුදුරුවන්ටම පූජ කරන්න ඕන, මගේ අතින්ම උයපු දේ උන් වහන්සේගෙ අතටම දෙන්න ඕන... ඔය ජාතියේ ඕන තරම් පුද්ගලික අත්දැකීම් ඇති. බෑ බෑ මේ පන්සලට ගිහින් දීල වැඩක් නෑ, ඒකට අර ආරණ්‍යයේ ඉන්න හාමුදුරුවන්ටම ගිහින් මගේ අතින්ම දෙන්න ඕන... ඔය වගේ අදහස් කොච්චරනම් ඇවිත් ඇත්ද ?

ඔය විදිහටමයි මහා ප්‍රජාපතී ගෝතමී තෙරණිය හැසිරුණෙත්, බලාපොරොත්තු වුනෙත්. නමුත් සියල්ලෙන් සියල්ල දකින ලොවිතුරා බුදුන් වහන්සේ දුන්න පිළිතුර මොකක්ද? උන්වහන්සේ ☞

මෙහෙම දේශනා කරනවා. ''ගෝතමිය, සංඝයාට දෙව. තී විසින් සංඝයාට දුන් කල්හි, මමද පුදන ලද්දේ වන්නෙමි, සංඝයාද පුදන ලද්දේ වන්නේය.'' එතකොට උන් වහන්සේ ඒ පිරිකර ප්‍රතික්ෂේප කළේ නෑ. ඒ වුනාට මෙහෙම කියනවා. මේක සංඝයා වහන්සේලාට දෙන්න, එතකොට මටත් දුන්න වෙනවා, උන් වහන්සේලාටත් දුන්න වෙනවා. ඔය කිව්ව වචන ටික ඉතාම ගැඹුරුයි. ඒ ගැඹුර ලිහල දුන්න විදිහ තමයි මේ සූත්‍රයේ තියෙන්නෙ. ඒ කිව්ව ටික කෑලිවලට බෙදල වෙන් කරල, එහෙම නැත්නම් විභංග කරල පෙන්නුව හැටි තමයි තියෙන්නෙ. නමුත් මේ තෙරණින් වහන්සේට ඒ කිව්ව වචන ටික තේරුනේ නෑ. ඒ නිසා නැවත නැවත තුන් වතාවක්ම බාරගන්න කියල බුදුන් වහන්සේගෙන් ඉල්ලා සිටියා. උන් වහන්සේත් තුන් වතාවක්ම එකම පිළිතුර දුන්නෙ. බුදුවරුන්ගෙ සිරිතක් තමයි තුන් වතාවකට වැඩිය යමක් කියන්න යන්නෙ නෑ.

ඉතින් තුන් වතාවක් කිව්වට පස්සෙ ආනන්ද හාමුදුරුවෝ මැදිහත් වෙලා බුදුන් වහන්සේට මෙහෙම කියනවා. ''ස්වාමීනි, මෙතුමිය ඔබ වහන්සේ කුඩා කල හදා වඩා ගත්ත කෙනා, වැදූ මවගෙ මරණින් පස්සෙ මෙතුමිය තමයි ඔබ වහන්සේට කිරි දුන්නෙ, හදා වඩා ගත්තෙ, පෝෂණය කළේ. ඔබ වහන්සේට බොහෝ උපකාර කරල තියෙනවා. ඒ වගේම තමයි ඔබ වහන්සේ මෙතුමියටත් උපකාර කරල තියෙනවා. එතුමිය ඒ නිසා බුදුන් සරණ ගියා, දහම් සරණ ගියා, සඟුන් සරණ ගියා. ඒ වගේම ඔබ වහන්සේ නිසා මෙතුමිය සතුන් මැරීමෙන් වැළකුනා, සොරකම් කිරීමෙන් වැළකුනා, කාමයේ වරදවා හැසිරීමෙන් වැළකුනා, බොරු කීමෙන් වැළකුනා, රහ මෙර පානයෙන් වැළකුනා. එතුමියට ඔබ වහන්සේ නිසා බුදුන් කෙරෙහි නොබිඳෙන ප්‍රසාදයක් ඇති වුනා, දහම් කෙරෙහි නොබිඳෙන ප්‍රසාදයක් ඇති වුනා, සඟුන් කෙරෙහි නොබිඳෙන ප්‍රසාදයක් ඇති වුනා, චතුරාර්ය සත්‍යය ගැන කිසිම සැකයක් නෑ. ආර්යකාන්ත සීලයේ එතුමිය පිහිටල ඉන්නෙ...'' ඔය විදිහට මහා ප්‍රජාපතී ගෝතමී තෙරණිය බුදුන් වහන්සේට කළ උපකාරත්, බුදුන් වහන්සේ මහා ප්‍රජාපතී ගෝතමී තෙරණියට කළ උපකාරත් මතක් කරල, මේ පූජ කරන පිරිකර වස්ත්‍ර බාරගන්න කියල ලොව්තුරා බුදුන් වහන්සේගෙන් ඉල්ලා සිටියා.

ඉතින් බුදුන් වහන්සේ ආනන්ද හාමුදුරුවන්ට මෙහෙම උත්තරයක් දුන්නා. ''ආනන්දය, එය එසේය, ආනන්දය, එය එසේය. ආනන්දය, යම් පුද්ගලයෙක් නිසා පුද්ගලයෙක් තෙම බුදුන් සරණ කොට ගියේ වේද, ධර්මය සරණ කොට ගියේ වේද, සංඝයා සරණ කොට ගියේ වේද, ආනන්දය, මේ ආචාර්ය වූ පුද්ගලයාහට මේ අතවැසි වූ පුද්ගලයා විසින් ප්‍රති උපකාර කළ නොහැක්කේ යයි කියමි'' ඒ අනුව බැලුවම, යම් කෙනෙක් තව කෙනෙකුට ආර්ය මාර්ගයට එන්න උදව් උපකාර කළාද, මාර්ගය පෙන්නුවද, ඒ පෙන්වන්න ගුරුහරුකම් දීපු ආචාර්යවරයා වෙනුවෙන්, එහෙම නැත්නම් භික්ෂූන් වහන්සේ වෙනුවෙන් ඊට සමාන උපකාරයක් කරන්න බෑ. එහෙම සම කරන්න පුළුවන් දෙයක් නෑ. තමන්ට ලියන්න පෑනක් නැති වෙලාවක කෙනෙක් පෑනක් අරන් දෙන්න පුළුවන්. ඒක තමන්ට කරපු උපකාරයක්. ඒ වගේම ඒ තමන්ට උපකාර කරපු කෙනාට ඒ ජාතියෙම පෑනක් අරන් දීල හරි, ඊට වැඩි දෙයක් දීල හරි, කරපු උපකාරයට ප්‍රති උපකාරයක් කරන්නත් පුළුවන්. නමුත් **කෙනෙක් තව කෙනෙකුට තිසරණයේ පිහිටන්න උපකාර කළාද, ඒකට සමානව කරන්න පුළුවන් ප්‍රති උපකාරයක් මේ තුන් ලෝකයේම නෑ.** මේ අප්‍රමාණ දුක් කන්දරාවක් විඳගෙන යන සසර ගමන නවත්වන්න උදව් කරපු කෙනාට ඒ හා සමාන උදව්වක් කොහොම කරන්නද? ඒ කාරණය තමයි ලොව්තුරා බුදුන් වහන්සේ ඒ වෙලාවෙ පෙන්නුවෙ.

හැබැයි, ප්‍රති උපකාරයක් කරන්න බැරි වුනාට, ඒ උදව් ලබාගත්ත කෙනාට කරන්න පුළුවන් දෙයක් පෙන්නුවා. උන් වහන්සේ මෙහෙම දේශනා කරනවා. ''එනම්, වැඳීමය, දැක හුනස්නෙන් නැගිටීමය, ඇඳිලි කිරීමය, ගරු බුහුමන් කිරීමය, සිවුරුය, පිණ්ඩපාතය, සේනාසනය, ගිලන්පස බෙහෙත් පිරිකරය යන මොවුන් දීමෙනි.'' මේ විදිහට අපට ප්‍රති උපකාරයක් කරන්න ක්‍රමයක් පෙන්නුවා. ඒ කියන්නෙ අපට මේ යහ මග පෙන්වපු උත්තමයට වැඳීමෙන්, ඉන්න තැනකින් නැගිටල ගරු කිරීමෙන්, සිවුරු පිණ්ඩපාත, සේනාසන, ගිලන්පස බෙහෙත් පිරිකර ආදිය දන් දීමෙන්.

ඉතින්, ඇයි බුදුන් වහන්සේ අර පිරිකර පිළිගන්නෙ නැතුව, සංඝයාට දෙන්න, එතකොට උන්වහන්සේලාට දුන්නත් වෙනවා, මටත් දුන්න වෙනවා කියල කිව්වෙ. ජීවමාන ලොව්තුරා බුදුන් වහන්සේ නමකගෙ අතටම පිරිකර පූජා කරනවට වඩා සංඝයා වහන්සේලාට පූජා කළාම වටිනාකම වැඩි වෙන්නෙ කොහොමද? ඒ ක්‍රමය උන්වහන්සේ විස්තර කරන්න පෙර මුලින්ම පුද්ගලික දාන වර්ග ගැන විග්‍රහ කළා.

ඒ විග්‍රහයෙදි ලොව්තුරා බුදුන් වහන්සේ පුද්ගලික දාන 14 ක් ගැන විස්තර කරනවා. ඉතින් මහා ප්‍රජාපතී තෙරණිය බුදුන් වහන්සේ කෙරෙහි පැහැදිලා දෙන්න ආවෙත් පුද්ගලික දානයක්. ඒ නිසා තමයි උන්වහන්සේ ඒ පුද්ගලිකව දෙන්න ආපු දානය සංඝයා උදෙසා දෙන්න කියල කිව්වෙ. මුලින්ම බලමු මොකක්ද මේ පුද්ගලික දාන කියන්නෙ කියල. ලොව්තුරා බුදුන් වහන්සේ මේ දානය කොටස් 14කට බෙදල පෙන්නුවා. උපරිම ආනිසංස ලැබෙන විදිහට දෙන්න පුළුවන් දානයේ පටන් අන්තිම පහත් මට්ටමට යන කල් දෙන දානය මේ කොටස් 14 තුල තියෙනවා.

ඒ අනුව ලොව්තුරා සම්මා සම්බුදුවරයෙකුට දෙන්න පුළුවන් දානයක් තියෙනව නම්, ඒක තමයි පළමු වෙනි පුද්ගලික දානය. තනි පුද්ගලයෙක් අරමුණු කරගෙන, එහෙම නැත්නම් මම අහවල් භික්ෂූන් වහන්සේට දන් දෙනවා, එහෙමත් නැත්නම්, මේ හාමුදුරුවෝ සිල්වත් උන්වහන්සේට තමයි මම දන් දෙන්නෙ... ආදී වශයෙන් ඔහොම හිතල යමෙක් දානයක් දෙනව නම්, එහෙමත් නැත්නම්, පුද්ගලයෙක් මුල් කරගෙන දන් දෙනව නම්, ඒක ගැනෙන්නෙ පුද්ගලික දානයක් හැටියට. ඒ සියල්ලෙන්ම ආනිසංස උපරිම දානය තමයි සම්මා සම්බුදුවරයෙකුට දෙන පුද්ගලික දානය. සාරාසංඛ්‍ය, අටාසංඛ්‍ය, සොළොසාසංඛ්‍ය කල්ප ලක්ෂයක් පාරමිතා පුරල, ඒ පාරමිතා සම්පූර්ණ කරල, තමන් වහන්සේගෙම උත්සාහයෙන් චතුරාර්ය සත්‍යය අවබෝධ කරගත්ත උතුමෙකුට තමයි සම්මා සම්බුදුවරයෙක් කියන්නෙ. ඊට එහා ගිය පුද්ගලයෙක් තුන් ලෝකයේම නෑ. ඒකයි පළමු උපරිම ආනිසංස තියෙන පුද්ගලික දානය සම්මා සම්බුදුවරයෙකුට දෙන දානය ☞

වෙන්නෙ.
දෙවනියට පෙන්නුවෙ පසේ බුදුවරයෙකුට දෙන පුද්ගලික දානය. පසේ බුදුවරයෙක් කියන්නෙ ලොව්තුරා බුදුන් වහන්සේ නමක් නැති කාලෙක, සම්මා සම්බුදු සාසනයක් නැති කාලෙක, තමන් වහන්සේගෙම උත්සාහයෙන් බාහිර පරිසරයක සිදුවීමක් අරමුණු කරගෙන චතුරාර්ය සත්‍යය අවබෝධ කරගන්න උතුමෙක්.



උන්වහන්සේලාට පුද්ගලිකව දෙන දානයක් දෙවැනියට ගැනෙන්නෙ ඒකයි.

ඊළඟට තුන් වෙනුවට ගැනෙන්නෙ සම්මා සම්බුදු සාසනයක ලොව්තුරා බුදුන් වහන්සේ නමකගෙන් බණ අහල හෝ ශ්‍රාවකයන් වහන්සේ නමකගෙන් බණ අහල අරිහත් ඵලය පූර්ණ කළ උතුමෙකුට දෙන පුද්ගලික දානය. එතනදි අසූ මහා ශ්‍රාවකයන් / ශ්‍රාවිකාවන් හෝ ඕනම අරිහතුන් වහන්සේ නමක් / අරිහත් මෙහෙණියක් අයිති වෙනවා. මම සැරියුත් හාමුදුරුවන්ට දානයක් දෙනවා, මම මුගලන් හාමුදුරුවන්ට දානයක් දෙනවා, එහෙම නැත්නම් අභවල් අරිහතුන් වහන්සේ නමට දානයක් දෙනවා... ඔය විදිහට කොහොම දන් දුන්නත්, අරිහතුන් වහන්සේ නමකට කියල පුද්ගලත්වයෙන් අරන් දෙන දානයක් වැටෙන්නෙ මේ තුන් වෙනි කොටසට. ඒ වගේම හතරවෙනි කොටසට වැටෙන්නෙ, අරිහත් වෙන්න පෙර, අරිහත් මාර්ගයේ ඉන්න උතුමන්ට පුද්ගලත්වයෙන් දෙන දානය.

පුද්ගලික දානයකින් පස්වෙනි තැනට වැටෙන්නෙ අනාගාමී උතුමන්ට දෙන දානය. ඊට පස්සෙ අනාගාමී මාර්ගයේ ඉන්න උතුමන්ට දෙන දානය හයවෙනි තැනට වැටෙනවා. හත්වෙනි තැනට සකෘදාගාමී උතුමන්ට දෙන දානය. ඊළඟට සකෘදාගාමී මාර්ගයේ ඉන්න උතුමන්ට දෙන දානය පුද්ගලික දානවලින් අටවෙනි තැනට වැටෙනවා.

නවවෙනි තැනට සෝවාන් ඵල ලාභියාට දෙන දානයත්, දසවෙනි තැනට සෝවාන් මාර්ගයේ ඉන්න කෙනාට දෙන දානයත් වැටෙනවා. ඊට පස්සෙ එකොලොස් වෙනි තැනට දෙන පුද්ගලික දාන අතරට වැටෙන්නෙ, කාමයන්ගෙන් වෙන්වෙලා ඉන්න පුද්ගලයෙකුට දෙන දානය. ඒක සාසනයෙන් බැහැර, වෙන කෙනෙක් උදෙසා දෙන්නත් පුළුවන්. බොහෝවිට අනගාරිකව ඉන්න අයට දෙන දානය මේ කොටසට අයිති වෙනවා. ඒ වගේම යම් වතක් රැකගෙන ඉන්න කෙනෙක් වෙන්නත් පුළුවන්. නමුත් ඒ පුද්ගලයා බුද්ධ සාසනයම තුල ඉන්න කෙනෙක් වෙන්න ඕන නෑ. ඒකයි සාසනයෙන් බැහැර කියල විශේෂයෙන් කිව්වෙ.

ඒ වගේම දොළොස් වෙනි තැනට වැටෙන්නෙ, පෘථග්ජන සිල්වත් කෙනෙකුට දෙන දානය. උදාහරණ විදිහට හතර පෝයටම සිල් ගන්න අය ගන්න පුළුවන්. ඒ අය ලෞකික වශයෙන් සිල්වත් ගුණවත් අය. සාසනික නොවන ලෞකික සීලයක් ගැනයි මේ කියන්නෙ. ඒ වගේ අයට පුද්ගලිකව දෙන දාන තමයි මේ කොටසට වැටෙන්නෙ. දහතුන් වෙනි තැනට වැටෙන්න පෘථග්ජන දුසිල්වත් අයට දෙන දානය. ඒ කියන්නෙ මේ මනුස්ස අත්බැව්වල ඉන්න දස අකුසල් කරන සාමාන්‍ය අය. හිඟන්නෙක් වුනත් ඒ ජාතියේ දුසිල්වත් නම් අයිති වෙන්නෙ මේ දහතුන් වැනි කොටසට. මහලු නිවාසයකට, ළමා නිවාසයකට දෙන දානයක් හෝ යම් පුද්ගලයන් වෙනුවෙන් දෙන දානයක් වුණත් ඒ අය දුසිල්වත් නම් වැටෙන්නෙ දහතුන් වෙනි කොටසට.

අවසානයේ දාහතර වෙනි තැනට පෙන්නුවෙ තිරිසන් සතුන්ට දෙන දානය. අපි බල්ලෙකුට කන්න දුන්නත්, කපුටෙකුට කන්න දුන්නත්, මොනම හෝ සතෙකුට මේ අත හෝදන වතුර ටිකත් ආහාරයක් වේවා කියල හිතල දැම්මත් ඒක අයිති වෙන්නෙ මේ දාහතර වෙනි කොටසට. මේකෙන් අපිට ගන්න පුළුවන් ලොකු ආදර්ශයක් තියෙනවා. ඒ තමයි කවුරුහරි කාට හරි සිවුපසයෙන් දන් දෙනව නම් ඒක වළක්වන්න යන්න එපා කියන කාරණය. මොකද මොන දානයක් වුනත් ඔය දාහතරෙන් එකකට කොහොමත් අයිති වෙනවා. අර මුලින් කිව්ව වගේ විවිධ අදහස් තියෙන පුද්ගලයන් අපි අතර ඉන්න පුළුවන්. කෙනෙක් කැමතියි බොහෝ දුර ගිහින් හරි තමන් කැමති භික්ෂූන් වහන්සේ නමකට දන් දෙන්න. තව කෙනෙක් කැමතියි, බඩගින්නෙ ඉන්න ළමයින්ට කන්න බොන්න දෙන්න. තව කෙනෙක් කැමති වෙන්න පුළුවන් මහලු නිවාසයකට දන් දෙන්න. තවත් කෙනෙක් සත්තුන්ට විතරක් කන්න දෙන්න පුළුවන්. මේ කිසි දෙයක් වළක්වන්න යන්න සුදුසු නෑ. දන් දෙන එක බොහොම වටින දෙයක්. ඒ ඒ අයගෙ නැණ නුවණ අනුව තමයි තමන්ට තේරෙන විදිහට දන් දෙන්නෙ. ඒ නිසා තමයි බුදුන් වහන්සේ දේශනා කළේ, තමන්ගෙ චිත්තප්‍රසාදය වැඩි වෙන්නෙ කාට දන් දුන්නමද ඒ අයට දන් දෙන්න කියල. දානයේ මහත්ඵල මහානිසංස බව වෙනම කතාවක්. ඒක ගුණවතුන්ට දීම හා සම්බන්ධ කාරණයක්. නමුත් දන් දෙන්න ඕන තමන් කැමති අයට, තමන්ගෙ චිත්ත ප්‍රසාදයක් තියෙන අයට.

දැන් පුද්ගලික දාන දෙන ක්‍රම 14 ක් පෙන්නුවා. ඒවායින්

ලැබෙන ලැබීමත් ඒ වගේ එකින් එකට වෙනස් වෙනවා. ඒකත් ලොව්තුරා බුදුන් වහන්සේ පෙන්වා දීල තියෙනවා. ඉතින් මේ පුද්ගලිකත්වයෙන් දාහතර වෙනියට තිරිසන් සතුන්ට දෙන දානයට අනුසස් 100 ක් තියෙනව කියලයි උන් වහන්සේ දේශනා කළේ. මෙතන අනුසස් කියල කිව්වෙ ලැබීම. ලැබීම 100 ක් කියලයි කිව්වෙ. ඒක උපමාවක් වෙන්නත් පුළුවන්. දුන්න වගේ සිය ගුණයක් ලැබෙනව කියන එකයි ඒකෙ තේරුම. දළ වශයෙන් මේ පෙන්වා තියෙන්නෙ යමක් තේරුම් ගන්න.

දන් කෙනෙකුට ගැටළුවක් එන්න පුළුවන් හේතුවට අනුකූල නම් ඵලය, කොහොමද 1:100, 1:1000... ආදී වශයෙන් වැඩිපුර ලැබෙන්නෙ කියල. ඉතින් සියල්ල හේතුඵලයි. දුස්සීලයටත් 1000 ක ගුණයක් තියෙනව කියල පෙන්වනවා. මොකද දුස්සීලයෙක් වුණත් පටිසන්ධිය ලබල තියෙන්නෙ කුසල සිතකින්. ඊට පස්සෙයි දුස්සීල වෙන්නෙ. තිරිසන් සතෙක් ගත්තමත් අකුසල් සිතක් පටිසන්ධියට සම්බන්ධ වුණාට, මේ සසර ගමනෙදි පෙර අන්‍යොන්‍ය වශයෙන් සහසම්බන්ධ වෙලා ඇතිකරගත් හිමිකම් තියෙනවා. ඒ නැතත් සත්ත්වයෙක් වශයෙන් හිමිකමක් ලබනවා. එකක් දුන්නම එකක් විතරක් ලැබෙනව නම් දුන් දෙයට අනුකූල වෙන්නෙ නෑ. දුන් දෙයට අනුකූල වෙන්න නම් ගුණයට අනුකූල වෙන්න ඕන. ඒ කියන්නෙ ගුණ වෘද්ධත්වය (මහත්වය). එතනදිත් ගුණ වෘද්ධත්වය, ජාති වෘද්ධත්වය, වයෝ වෘද්ධත්වය, ස්කන්ධ වෘද්ධත්වය... ආදී වශයෙන් තිරිසන් සතෙකුටත් ඒ ලක්ෂණ අඩු වැඩි වෙන අවස්ථා තියෙනවා. ඒ කියන්නෙ බහු හේතුකයි. එක හේතුවක් නිසා ඇතිවෙන දෙයක් නෙවෙයි.

උදාහරණයක් විදිහට හරකෙකුට තණකොළ මිටියක් කන්න දීමයි, කුඹියෙකුට පැණි ටිකක් ඇඟිල්ලෙ ගාල දීමයි කියන්නෙ කාරණා දෙකක්. ඒ දෙකේ ලොකු වෙනසක් තියෙනවා. ශරීර ස්වභාවය හෙවත් ස්කන්ධ මහත්වය එතනදි බලපානවා. ඒකත් ජාති වෘද්ධත්වයේම කොටසක්. වයෝ වෘද්ධත්වය කිව්වම වැඩි කාලයක් ජීවත් වීම බලපානවා. උදාහරණයක් විදිහට හරකෙක් අවුරුදු 10 - 15 ක් ජීවත් වෙනකොට කුඹියෙක් මාසයක් විතර ජීවත් වෙන්න පුළුවන්. එතකොට වැඩි ආයුසක් ඇති සතෙකුට කන්න දීම ආනිසංසත් වැඩියි. හැබැයි ඒ කාරණය හැම තිස්සෙම එහෙම වෙන්නෙ නෑ. සමහර විට අවුරුදු දෙතුන්සිය ගණන් ජීවත් වෙන සත්තු ඉන්නවා. හැබැයි සාමාන්‍ය ආයුසක් ජීවත් වෙන සත්ත්වයින්ට වඩා ඒ සත්තු නීච වෙන්න පුළුවන්. ඒ නිසා මේ හැම අවස්ථාවකදිම ගුණ වෘද්ධත්වය තමයි ප්‍රධාන වෙන්නෙ. අපි ගවයෙක් දේවත්වයෙන් සළකන්නෙ උගෙන් අපට තියෙන ප්‍රයෝජනවත් බව සළකල. ඒකත් ගුණ මහත්වයට බලපානවා. ඒ නිසා ආයුස කියන්නෙ එක කාරණයක් විතරයි. හැම තැනදිම පළවෙනි වෙන්නෙ ගුණ මහත්වය. අනෙක්වා දෙවෙනියි.

ඒ වගේම කුඹි කියන්නෙ තිරිසන් වුණත් ක්ෂුද්‍ර මට්ටමේ සතෙක්. ඒ කියන්නෙ කුඹියෙක් සෑහෙන කාලයක් ගුණවලින් පල්ලම් බැහැලයි ඒ තත්ත්වයට පත් වෙලා තියෙන්නෙ. ඌට නැවතත් ලේසියෙන් මනුස්ස අත්බවයක් ලබන්න බෑ. ඒ සඳහා ක්‍රමයෙන් තවත් සෑහෙන අත්බැව් ගණනාවක් යන්න වෙනවා. නමුත් හරකෙක් ගත්තම ඌ සමහරවිට ඊළඟ අත්බවයෙදි මනුස්සයෙක් වෙන්නත් අවස්ථාව තියෙනවා. මොකද ගුණ අතින් ක්ෂුද්‍ර මට්ටමට බැහැල නෑ. ඒ අනුවත් ආනිසංස වැඩි වෙනවා. ඒ කියන්නෙ ගුණ වෘද්ධත්වය වගේම ජාති වෘද්ධත්වයත් බලපානවා. කුඹි කියන්නෙ ක්ෂුද්‍ර ජාතියක්. ජාති වෘද්ධත්වයෙන් අඩුයි.

ඊළඟට තිරිසන් සතුන් අතරත් පෙරුම් පුරන බෝසත් සත්ත්වයින් ඉන්න පුළුවන්. එතකොට ගුණ මහත්වයත් වැඩියි. ඒ අනුව ආනිසංසත් වැඩියි. ඒ නිසා තිරිසන් සතුන් ගත්තම විවිධාකාර ප්‍රභේද තියෙනවා. පොදුවේ තිරිසන් කොටසට වැටුණත් මේ කියන කාරණා අතින් සතුන් විවිධයි. ප්‍රභේදවල කෙළවරක් නෑ. ගති අනුව 84,000 ක් මූලික සත්ත්ව ප්‍රභේද තියෙනවා. ඒ කියන්නෙ මේ තුන් ලෝකයේ සියලු සතුන් වන සතර අපා, මනුස්ස, දිව්‍ය බ්‍රහ්ම ඔක්කොම අයිතියි. ඒ 84,000 ක් කියන්නෙ මූලික වශයෙන්. ඒකත් අප්‍රමාණව බෙදෙනවා. ඒ නිසා තමයි තිස් තුන් කෝටියක් දෙවි දේවතාවුන් ඉන්නව කියන්නෙ. ඒ කියන්නෙ දේව කුළ තිස් තුන් කෝටියක්. ඒ තිස්තුන් කෝටියම අර මූලික ප්‍රභේද 84,000 ට අයිති වෙනවා. එතකොට අප්‍රමාණ සත්ත්වයින්ට අප්‍රමාණ ප්‍රභේද තියෙනවා. ඒ නිසා ඉතාම සියුම්ව බැලුවොත්, එකම සත්ත්ව ජාතියක වුණත් එක සතෙකුට තවත් සතෙක් සමාන නෑ. ඒ නිසා සත්ව ප්‍රභේද බෙදෙන කොට මේ විදිහට සලකල බලන්නෙ එක්තරා පොදු මට්ටමක්.

ඉතින් මුලින් කිව්ව වගේ දන් දෙන්න යන කෙනාව කිසිම හේතුවක් නිසාවත් වළක්වන්න යන්න සුදුසු නෑ. කාටද දෙන්නෙ කියන එක තීරණය වෙන්නෙ, ඒ දෙන කෙනාගෙ නැණ නුවණ අනුව. දානයේ ප්‍රතිඵල, එහි ආනිසංස ත්‍රිපිටකය පුරා සූත්‍රවල තියෙනවා. එක්තරා අවස්ථාවක සුමනා කියන සිටු දුවක් බුදුන් වහන්සේගෙන් මෙහෙම අහනවා.

''ස්වාමීනි, මේ සාසනයෙහි සමාන ශ්‍රද්ධා ඇත්තා වූ, සමාන සිල් ඇත්තා වූ, සමාන ප්‍රඥා ඇත්තා වූ, දන් දෙන එකෙකැයි, දන් නොදෙන එකෙකැයි භාග්‍යවතුන් වහන්සේගේ ශ්‍රාවකයෝ දෙදෙනෙක් වන්නාහුය. ඔවුහු ශරීරයාගේ බිඳීමෙන් මරණින් මත්තෙහි යහපත් ගති ඇත්තා වූ ස්වර්ග ලෝකයෙහි උපදින්නාහුය. ස්වාමීනි, දෙව්වූම ඔවුන්ගේ වෙසෙසක් (විශේෂයක්) වන්නේද, වෙන් කිරීමක් වන්නේද?'' (<u>සුමනා සූත්‍රය</u> - සුමනා වර්ගය - පඤ්චක නිපාත පාළි - අංගුත්තර නිකාය).

මෙතනදි මේ සිටු දුව ඇහුවෙ මොකක්ද? බුද්ධ සාසනයේ ශ්‍රාවකයන් දෙන්නෙක්ගෙන් එක්කෙනෙක් දන් දෙනවා, අනෙක් කෙනා දන් දෙන්නෙ නෑ. හැබැයි දෙන්නම සිල්වත් ගුණවත් ප්‍රඥාවන්ත අය. මේ දෙන්නගෙ මරණින් පසුව දෙන්නම දේවත්වයට යනවා. එහෙම ගියාට පස්සෙ ඒ දන් දුන්න කෙනාගෙයි නොදුන්න කෙනාගෙයි වෙනසක් තියෙනවද කියලයි ඇහුවෙ. ලොව්තුරා බුදුන් වහන්සේ ඒකට මෙහෙම උත්තරයක් දෙනවා.

"සුමනාවෙනි, යම් මේ දන් දෙන්නෙක් වේද, හෙතෙම මේ නොදෙන්නහු දෙව් වූයේම දිව්‍ය වූ ආයුසයෙන්ද, දිව්‍ය වූ ශරීර වර්ණයෙන්ද, දිව්‍ය වූ සැපයෙන්ද, දිව්‍ය වූ යසසින්ද, දිව්‍ය වූ අධිපති බවින්ද යන

කරුණු පසින් මැඩ පවත්වයි. සුමනාවෙනි, යම් ඒ දන් දෙන්නෙක් වේද, මේ දන් නොදෙන්නහු දෙවි වූයේම මේ කරුණු පසින් මැඩ පවත්වයි." ඉතින් උන්වහන්සේ පැහැදිලි වෙනසක් පෙන්නුවා. ආයුස අතින්, පෙනුම හෙවත් වර්ණය අතින්, සැපය අතින්, බලය අතින්, නුවණ අතින්, දන් දුන්න කෙනා නොදුන්න කෙනාව මැඩ පවත්වනව කියල පෙන්වා දුන්නා.

දැන් ඉතින් තිරිසන් සතෙකුට දුන්නමත් 100 ක් අනුසස් ලැබෙනව නම්, ඊළඟට ඉන්න දුස්සීල පෘථජ්ජන කෙනෙකුට දුන්නම 1000 ක් ලැබෙනව කියලයි පෙන්නුවෙ. ඊට පස්සෙ සිල්වත් පෘථජ්ජනයෙකුට දෙන දානයෙන් ලක්ෂයක් අනුසස් ලැබෙන බවත්, සාසනයෙන් පිටත ඉන්න කාමයෙන් වෙන්වූ යෝගීවරයෙක් හෝ යම් කෙනෙකුට දෙන දානයෙන් කෝටි ලක්ෂයක් අනුසස් ලැබෙන බවත් පෙන්නුවා. ඊළඟට ආර්ය භූමියට ඇතුල් වෙච්ච සෝවාන් මාර්ග අනුාමිකයෙකුට දෙන පුද්ගලික දානයෙන් ලැබෙන අනුසස් ගැන කිව්වෙ මෙහෙමයි. " සෝවාන් ඵලය ප්‍රත්‍යක්ෂ කිරීම පිණිස පිළිපන්නකු කෙරෙහි දානය දී සංඛ්‍යාවක් නැත්තා වූ, ප්‍රමාණයක් නැත්තා වූ අනුසස් ඇති දානය කැමති විය යුත්තේය." ඒ අනුව බැලුවම ආර්ය භූමියට ඇතුල් වෙච්ච මුල්ම කෙනාට දෙන දානයෙන් ලැබෙන අනුසස්වලත් ප්‍රමාණයක් කියන්න බෑ කියලයි පෙන්වා තියෙන්නෙ. සිවුපසයෙන් දුන් දේ මොකක් වුණත් ලැබෙන ප්‍රමාණය අප්‍රමාණයි.



බුද්ධ සාසනයක් තුල පමණයි ආර්ය භූමියට ඇතුලත් වෙන්න පුළුවන්. එහෙම ඇතුල් වෙච්ච මූලික කෙනාට දුන්න දානයේ අනුහස කියල නිම කරන්න බැරි බවයි බුද්ධ දේශනාවෙ සඳහන් වෙන්නෙ. දන් දුන්නම ලැබෙනවා. ඒත් ඒ ලැබීම සීමාවක් නැතුව ලැබෙන්නෙ බුද්ධ සාසනයට සම්බන්ධ වෙච්ච කෙනෙකුට, එහෙම නැත්නම් බුදුන්, දහම්, සඟුන් සරණ ගිය ඍතවත් ආර්ය ශ්‍රාවකයෙකුට සිවු පසයෙන් දන් දුන්නම. ඉතින් ඔය කාට දුන්නත් එකයි නේ, ඔය අයට ඕන තරම් තියෙන්නෙ, කන්න නැති කෙනෙකුට දුන්නම කොච්චර වටිනවද... ආදී වශයෙන් කියන අයට දැන් පැහැදිලි වෙන්න ඕන, කාට දුන්නත් එකයි කියන කාරණය නිවැරදි නොවන බව. ඉතින් බුදුන් වහන්සේ සෝවාන් මාර්ග අනුගාමිකයාට දෙන පුද්ගලික දානයේ අනුසස් ගැන කියල, ආර්ය භූමියට ඇවිත් පූර්ණ කරගත් උතුමන්ට, පසේ බුදුවරයන්ට සහ සම්මා සම්බුදුවරයන්ට දෙන පුද්ගලික දානයක අනුසස් ගැන කවර කතාද කියල ඇහුවා.

දැන් මේ කිව්වෙ පුද්ගලයෙක් විශේෂ කරගෙන, පුද්ගලත්වයක් අරගෙන දෙන දාන ගැන සහ ඉන් ලැබෙන අනුසස් ගැන. ඊට පස්සෙ උන්වහන්සේ පැහැදිලි කරනවා, මේ සංඝයා උදෙසා දෙන දානයක තියෙන වටිනාකම. උන්වහන්සේ ඒක විස්තර කළේ, සංඝයාටත් දීල මටත් දුන්නා හා සමානයි කියල හිතාගන්න කියල. උන්වහන්සේ සංඝයා උදෙසා දෙන දානය කොටස් 7 ක් පෙන්නුවා. පුද්ගලත්වයෙන් දෙනවට වඩා, උදෙසා දෙන දානයේ වටිනාකම පෙන්නුවා. උදෙසා කියල කිව්වෙ, වෙනුවෙන් කියන එක.

උපමාවක් කියනව නම්, යම් කිසි ආයතනයක් වෙනුවෙන් ආයතනයක ප්‍රධානියෙක් වෙනුවට වෙන කෙනෙක් අත්සන් කරන ලියුමක් වගේ. එතකොට ඒ ප්‍රධානියා නියෝජනය කරන්නෙ ආයතනය. අත්සනේ යොදනවා අහවල් ආයතනයේ ප්‍රධානියා වෙනුවට යම් කෙනෙක් කියල. ඒ සම්පූර්ණ බලය අර අත්සන් කරන කෙනා සතුවත් තියෙනවා. ඉතින් සංඝයා උදෙසා දානයක් දෙනකොට බුද්ධ සාසනය නියෝජනය කරන අය ඉන්නවා. මේ කොටස් හතෙන් පෙන්නුවෙ මෙන්න මේ නියෝජිතයන්. එතනදි පුද්ගලත්වයක් ගැනෙන්නෙ නෑ. පොදුවේ මුළු සාසනයම ඇතුලත් වෙනවා. උපමාවක් කියනව නම්, කෙනෙක් බුදුන් වහන්සේටත් දන් දෙනවා, සියලුම භික්ෂුන් වහන්සේලාටත් වෙන වෙනම දන් දෙනවා, සියලුම ආර්යන්ටත් දන් දෙනවා. කොච්චර ආනිසංසයක් ඒ පුද්ගලයට නැවත ලැබෙනවද? හැබැයි ඒ සේරම එකට කැටි කරල එක නියෝජිතයෙක් හරහා දානයක් දෙන ක්‍රමයක් තමයි මේ, උදෙසා දන් දෙනව කියන්නෙ.

ලොව්තුරා බුදුන් වහන්සේ මේ, උදෙසා දෙන සාංඝික දානය කොටස් හතකට බෙදල පෙන්වා දුන්නා.

1. බුදුන් වහන්සේ ප්‍රධාන භික්ෂු භික්ෂුණීන් වහන්සේලාට දෙන දානය.
2. බුදුන් වහන්සේගේ පරිණිර්වානයෙන් පසු භික්ෂු භික්ෂුණීන් වහන්සේලාට දෙන දානය.
3. භික්ෂූන් වහන්සේලාට දෙන දානය.
4. භික්ෂුණීන් වහන්සේ-ලාට දෙන දානය.
5. මට මේ ප්‍රමාණයෙන් භික්ෂූන් වහන්සේලා සහ භික්ෂුණීන් වහන්සේලා සංඝයා කෙරෙන් අවශ්‍ය යැයි කියා උන්වහන්සේලාට දෙන දානය.
6. මට මේ ප්‍රමාණයෙන් භික්ෂූන් වහන්සේලා සංඝයා කෙරෙන් අවශ්‍ය යැයි කියා උන්වහන්සේලාට දෙන දානය.
7. මට මේ ප්‍රමාණයෙන් භික්ෂුණීන් වහන්සේලා සංඝයා කෙරෙන් අවශ්‍ය යැයි කියා උන්වහන්සේලාට දෙන දානය.

මෙතනදි 5, 6, 7 යන ක්‍රමයන්ගෙන් අදහස් කළේ, කෙනෙක් පන්සලට ගිහින් අපට භික්ෂූන් වහන්සේලා දස නමක් අවශ්‍යයි දානයක් දෙන්න... ආදී වශයෙන් අන්න එහෙම ප්‍රමාණයක් කියල තමන්ට පුළුවන් ප්‍රමාණයකට දන් දීම. ඒකත් අයිති වෙන්නෙ සංඝයා උදෙසා දන් දීමට. ඒ විදිහට එක භික්ෂූන් වහන්සේ නමකට ☞

හෝ සංඝයා උදෙසා කියල මුළු බුද්ධ සාසනයම නියෝජනය වෙන විදිහට දන් දෙන්න පුළුවන්. එතකොට ඒක පුද්ගලික දානයක් හැටියට ගැනෙන්නෙ නෑ. අවසානයේ බුදුන් වහන්සේ මෙහෙමත් දේශනා කරනවා. " ආනන්දය, මතු කාලයෙහි ශ්‍රමණ ගෝත්‍රය පමණක් ඇත්තා වූ, ළාමක ස්වභාව ඇත්තා වූ, කාසාවකණ්ඨ නම් දුස්සීලයෝ වන්නාහුමය. ඒ දුස්සීලයන් කෙරෙහි සංඝයා උදෙසා දානය දෙන්නාහුය. ආනන්දය, එකල්හිද මම සංඝගත දානය සංඛ්‍යාවක් නැති, ප්‍රමාණයක් නැති අනුසස් ඇත්තකැයි කියමි."

ඉතින් දානයක් දෙන්න ගියාම භික්ෂූන් වහන්සේලාගේ සිල්වත්කමයි, වගතුගයි හොයන්න යන අයට හොඳ උත්තරයක් බුදුන් වහන්සේම දීල තියෙනවා. **කෙනෙක් භික්ෂූන් වහන්සේ නමකට දානයක් දෙනකොට හිතන්න ඕන, මේ මුළු බුද්ධ සාසනයම නියෝජනය කරන කෙනෙක්, උන්වහන්සේට දානය දෙන්නෙ මුළු බුද්ධ සාසනයම වෙනුවෙන්, ඒ සංඝයා වහන්සේලා වෙනුවෙන් කියල.** එහෙම දුන්නම පුද්ගලත්වයක් නැතුව මහත්ඵල මහානිසංස කුසලයක්, පුණ්‍ය කර්මයක් කරගත්ත වෙනවා. ආනන්ද හාමුදුරුවන්ට බුදුන් වහන්සේ ඒක පැහැදිලි කළේ මෙහෙමයි. "ආනන්දය, කිසියම් ආකාරයකින් සාංඝික දානයට වඩා පුද්ගලික දානය අතිශයින් මහත්ඵල ඇත්තේ යැයි මම නොකියමි." ඉතින් අපිත් දන් දෙනකොට පුද්ගලත්වයක් නොගෙන සංඝයා උදෙසා කියල දන් දුන්නම, බුදුන් වහන්සේ දේශනා කළ විදිහට ලොව්තුරා බුදුන් වහන්සේටත් දුන්න වෙනවා, ඒත් එක්කම මුළු සංඝයා වහන්සේලාටත් දුන්න වෙනවා.

ඊළඟට උන්වහන්සේ මේ දෙන දානයේ පිරිසිදුකම ගැනත් දේශනා කරනවා. "ආනන්දය, මේ දාන විසුද්ධිහු සතරක් වෙත්. කවර සතරක්ද යත්? ආනන්දය, දායකයා කෙරෙන් පිරිසිදු වේද (මහත්ඵල වේද), ප්‍රතිග්‍රාහකයා කෙරෙන් පිරිසිදු නොවේද, එබඳු දානයක් ඇත්තේය. ආනන්දය, ප්‍රතිග්‍රාහකයා කෙරෙන් පිරිසිදු වේද, දායකයා කෙරෙන් පිරිසිදු නොවේද, එබඳු දානයක් ඇත්තේය. ආනන්දය, දායකයා කෙරෙන් පිරිසිදු නොවේද, ප්‍රතිග්‍රාහකයා කෙරෙන් පිරිසිදු නොවේද, එබඳු දානයක් ඇත්තේය. ආනන්දය, දායකයා කෙරෙනුත් පිරිසිදු වේද, ප්‍රතිග්‍රාහකයා කෙරෙනුත් පිරිසිදු වේද, එබඳු දානයක් ඇත්තේය."
සරලව කියනව නම්,

1. දන් දෙන කෙනා පිරිසිදුයි, දානය ලබන කෙනා අපිරිසිදුයි.
2. දන් දෙන කෙනා අපිරිසිදුයි, දානය ලබන කෙනා පිරිසිදුයි.
3. දන් දෙන කෙනාත් අපිරිසිදුයි, දානය ලබන කෙනාත් අපිරිසිදුයි.
4. දන් දෙන කෙනාත් පිරිසිදුයි, දානය ලබන කෙනාත් පිරිසිදුයි.

මෙතනදි පිරිසිදුයි කියල අදහස් කළේ, බාහිර පිරිසිදුකම නෙවෙයි, සිල්වත් වූ යහපත් ගති ඇති කියන අර්ථයෙන්, පිරිසිදු චේතනා ඇති කියන අර්ථයෙන්. ඒ වගේම අපිරිසිදුයි කියල අදහස් කළේ, දුසිල්වත් වූ අයහපත් ගති ඇති කියන අර්ථයෙන්, අපිරිසිදු චේතනා ඇති කියන අර්ථයෙන්. උදාහරණයක් හැටියට සිල්වත් ගුණවත් උපාසක මහත්තයෙක් සංඝයා උදෙසා කියල දුසිල්වත් අයහපත් භික්ෂූන් වහන්සේ නමකට දානයක් දෙනවා. උන්වහන්සේත් දානය බාරගන්නවා. එතකොට ඒ උපාසක මහත්තය පහන් සිතින් "සංඝයා උදෙසා" කියල දුන්න නිසා ඔහුට අවශ්‍ය ප්‍රතිඵලය ලැබෙනවා. නමුත් දානය බාරගත් භික්ෂූන් වහන්සේ දුසිල්වත් නිසා උන්වහන්සේ ගිහි කෑවා හා සමාන වෙනවා. ඒ උපාසක මහත්තය ''උදෙසා'' කියල අදහස ගත්තෙ ඒ භික්ෂූණ් වහන්සේ කෙරෙහි පුද්ගලිකත්වයකින් නම් පුද්ගලික දානයකින් එන ආනිසංස ලැබෙනවා.

ලොව්තුරා බුදුන් වහන්සේ මෙහෙම දේශනාවක් **අග්ගික්ඛන්ධෝපම සූත්‍රයේ** (මහා වග්ගය - සප්තක නිපාත පාළි - අංගුත්තර නිකාය) මැනවින් පැහැදිලි කරල තියෙනවා. "දුස්සීල වූ, පාප ධර්ම ඇති, කැත කුණුවලින් පිරි කසල ගොඩක් හා සමාන වූ, සැඟවී වැරදි වැඩ කරන, ශ්‍රමණයයි අඟවන අශ්‍රමණ වූ, බ්‍රහ්මචාරීයයි අඟවන බ්‍රහ්මචාරී නොවූ, ඇතුළත කුණු වූ වැගිරෙන, කසල හටගත්, ඒ දුසිල් මහණහුට ක්ෂත්‍රිය මහාසාරයන්ගේ හෝ ශ්‍රද්ධාවෙන් දෙන විහාරය පරිභෝග කෙරේද? මහණෙනි, එය ඔහුට දිගු කලක් අහිත පිණිස, දුක් පිණිස වන්නේය. කය බිඳීමෙන් මරණින් පසු, සැප නැත්තා වූ නරක ගතිය නම් වූ, විශේෂයෙන් ඇද වැටෙන්නා වූ නරකයෙහි උපදනේය."

ඉතින් ඒක ලේසි පහසු නෑ. ඒ වගේම දානයක් දෙනකොටත් ඒ දානය පහන් සිතින් දෙන්න ඕන. කාටද මේ දන් දෙන්නෙ, ඇයි දෙන්නෙ කියල නුවණින් හිතන්න ඕන. ගුණයක් දැකල, ගුණයක පිහිටලයි දානයක් දෙනකොට දෙන්න ඕන. ඒ වෙලාවට එන සිතිවිලි ඒ ඒ අයගෙ නුවණ අනුව, දැනුම් තේරුම්කම අනුව වෙනස් වෙන්න පුළුවන්. මොනවා වුණත් කුසලයක් කරන්න යන්න කලින් පහල වෙන සිත් තියෙනවා. ධර්මයේ මේ පහල වෙන යහපත් පහන් සිත් කොටස් අටකට බෙදල තියෙනවා.

1. සෝමනස්ස සහගත ඥාන සම්ප්‍රයුක්ත සිත. (හිතේ සතුට සහ නුවණ සමග පහල වෙන සිත)
2. සෝමනස්ස සහගත ඥාන සම්ප්‍රයුක්ත සසංකාරික සිත. (හිතේ සතුට සහ නුවණ සමග තමා වෙනුවෙන් මෙය කරන්නේ යයි පහල වෙන සිත)
3. සෝමනස්ස සහගත ඥාන විප්‍රයුක්ත සිත. (හිතේ සතුට සමග නුවණ නැතිව පහල වෙන සිත)
4. සෝමනස්ස සහගත ඥාන විප්‍රයුක්ත සසංකාරික සිත. (හිතේ සතුට සමග නුවණ නැතිව තමා වෙනුවෙන් පහල වෙන සිත)
5. උපේක්ෂා සහගත ඥාන සම්ප්‍රයුක්ත සිත. (හිතේ මධ්‍යස්ථ ස්වභාවය සහ නුවණ සමග පහල වෙන සිත)
6. උපේක්ෂා සහගත ඥාන සම්ප්‍රයුක්ත සසංකාරික සිත. (හිතේ මධ්‍යස්ථ ස්වභාවය සහ නුවණ සමග තමා වෙනුවෙන් පහල වෙන සිත)
7. උපේක්ෂා සහගත ඥාන විප්‍රයුක්ත සිත. (හිතේ මධ්‍යස්ථ ස්වභාවය සමග නුවණ නැතුව පහල වෙන සිත)
8. උපේක්ෂා සහගත ඥාන විප්‍රයුක්ත සසංකාරික සිත. (හිතේ මධ්‍යස්ථ ස්වභාවය සමග නුවණ නැතුව තමා වෙනුවෙන් පහල වෙන සිත)

මෙතනදි නුවණ සමග කියල අදහස් කළේ, කාටද මේ දන් දෙන්නෙ, මොකටද දන් දෙන්නෙ කියන හැඟීම. බුද්ධ සාසනයක ගුණ, නුවණින් දැකල තියෙනව නම්, මේ අප්‍රමාණ ගුණ අනුමානයෙන් හිතීමයි නුවණත් සමග කියල අදහස් කළේ. හැබැයි මෙතනදි නුවණ සමග හෙවත් ඥාන සම්ප්‍රයුක්ත කිව්වම, නියම විදිහට ඥාන සම්ප්‍රයුක්ත වෙන්න නම් චතුරාර්ය සත්‍යය අවබෝධ කරගත් ආර්යයෙක් වෙන්න ඕන. ඒ කියන්නෙ සෘතවත් අරිය ශ්‍රාවකයෙක්. මොකද බුද්ධ සාසනයක ගුණ නියම විදිහට දකින්නෙ ආර්යයන් විතරයි. අනික් අයට ලෞකික වශයෙන් ඥාන සම්ප්‍රයුක්ත වෙන්න පුළුවන්. ඒ කියන්නෙ දස වස්තුක මිත්‍යා දෘෂ්ටියෙන් වෙන් වෙච්ච ඥාන සම්ප්‍රයුක්ත බව. ආර්යයන්ට තියෙන්නෙ චතුරාර්ය සත්‍යය අවබෝධයෙන් ලබපු ඥාන සම්ප්‍රයුක්ත බව. ඒ නිසා මෙතනදි ඥාන සම්ප්‍රයුක්ත කිව්වමත් වඩා බලවත් වෙන්නෙ ආර්ය පුද්ගලයන්ට නැගෙන හිත. ඒ නිසා තමයි ආර්යයන්ට පුණ්‍ය ගංගා, කුසල ගංගා පහළ වෙනව කියන්නෙ.

ඒ අනුව තම තමන්ගෙ අවබෝධයේ ශක්තිය අනුව ඒකෙන් නැගෙන බලය වෙනස් වෙන්න පුළුවන්. ඒ වගේම ඒ එන සතුට, එහෙම නැත්නම් සෝමනස්ස සහගත බව උපරිම වශයෙන්, මධ්‍යම වශයෙන්, අවම වශයෙන් එන්නත් පුළුවන්. උපරිමයට උත්කෘෂ්ට කියලත්, අවමයට ඕමක කියලත් කියනවා. ඉතින් සෝමනස්ස සහගත ඥාන සම්ප්‍රයුක්ත මධ්‍යස්ථ හෝ උත්කෘෂ්ඨ සිතකින් දෙන දානයකින් ගොඩ නගන ශක්තිය, සෝමනස්ස සහගත ඥාන සම්ප්‍රයුක්ත ඕමක සිතකින් දෙන දානයකින් ගොඩ නගන ශක්තියට වඩා වැඩියි. හරියට අහසට පොලව වගේ. ලැබෙන ලැබීමත් ඒ වගේ.

ඊළඟට මේ ඕමක කියන සිතත් ඕමක උත්කෘෂ්ට, ඕමක මධ්‍යම, ඕමක ඕමක කියල අවස්ථා තුනක් තියෙනවා. ඒ වගේම මේ උත්කෘෂ්ට, මධ්‍යම කියන අවස්ථා දෙකත් උත්කෘෂ්ට - උත්කෘෂ්ට, උත්කෘෂ්ට - මධ්‍යම, උත්කෘෂ්ට - ඕමක... ආදී වශයෙන් බෙදෙනවා. සෝමනස්ස සහගත ඥාන සම්ප්‍රයුක්ත ඕමක සිතක් කිව්වම ඒ හිතේ බලවත් බව අඩුයි, බාලයි. එතකොට ඒ බාල බවත් අර වගේ කොටස් තුනකට බෙදෙනවා.



උදාහරණ විදිහට කවුරුහරි මිතුරෙක් කෙනෙකුට අඬගහනවා දානයකට අත ගහන්න එන්න කියල. නමුත් ඔහු මොකද කරන්නෙ, කලබලේට නිකං උඩින් මත්තෙන් සාධු කියල යන්න යනවා. ඔහුට ඒ දානෙට සම්බන්ධ වෙන්න බැරිකමක් නෑ. නමුත් වෙන කාරණයක් පළවෙනි කරගෙන, මම මේ හදිසියේ ගමනක් යන ගමන් කියල අර විදිහට යන්න යනවා. එතකොට ඔහු දානෙ ගැන සතුටුයි. දෙනවටත් කැමතියි. ඒ කියන්නෙ සෝමනස්ස සහගතයි. ඒ වගේම ඒ දානෙ ආනිසංස තියෙන බවත් පිළිගන්නවා. ඒ නිසා ඥාන සම්ප්‍රයුක්තයි. ඔහු මේ දානෙට සහභාගි වෙන්න කැමති වුනත් ඒ තරම් සැලකිල්ලෙන් ගනන් ගන්නෙ නෑ. තමන්ගෙ ගමනට මුල් තැන දීල දානෙ දෙවනි කරල සලකනවා. එතකොට ඒ අවස්ථාවෙදි නැගෙන හිත ඕමකයි, බාලයි. එහෙම ගිහින් අන්තිමට ඕමකයේ ඕමක වෙන්නත් පුළුවන්. ඒ කියන්නෙ තමන්ට ඒ සඳහා සහභාගි වෙන්න හොඳටම පුළුවන්කම තියෙද්දිත්, වැඩිය ගණන් නොගෙන යන්න යනව නම් ඒ වගේ වෙන්න පුළුවන්.

දාන මාන දෙනකොට අන්න ඒ වගේ අවස්ථා එන්න පුළුවන්. එහෙම වුනොත් කොච්චර ධනය, ශ්‍රමය වැය කරල දන් දුන්නත් ලැබෙන ආනිසංස අඩු වෙනවා. ඒ නිසා තමයි එදා අනේපිඩු සිටුතුමා කෙළ කෝටියක් ධනය වියදම් කරල ජේතවනාරාමය හදල පූජා කළත්, ඔහුට මරණින් මතු රිදී විමානයක් පහළ වෙලා, පැත්තක ඉඳගෙන ඒ කටයුතු දිහා චිත්ත ප්‍රසාදයෙන් බලාගෙන ඉඳල සාධුකාර දුන්න දුගී මනුස්සයට ඊට ඉහළින් රන් විමානයක් පහළ වුනේ.

ඊළඟට සසංකාරික හිත කියන්නෙ, තමා වෙනුවෙන් කියන අදහස ගත්තම පහළ වෙන හිත. ස්ව + සංකාරික. ඒ කියන්නෙ ඒ දානය දීල නිවන හැර ලෝකයෙන් යමක් බලාපොරොත්තු වෙනවා. මේ දානයේ ආනිසංසයෙන් මට මතු මෙහෙම සම්පත්තියක් ලැබේවා, දිව්‍ය සැප සම්පත් ලැබේවා... ආදී වශයෙන් තමන්ගෙ පුද්ගලිකත්වය මුල් කරගෙන ලෞකික වශයෙන් යමක් බලාපොරොත්තුවෙන් දන් දෙනව නම්, එතනදි එන්නෙ සසංකාරික සිතක්. ලෝකයෙන් වෙන මුකුත් බලාපොරොත්තු නොවී නිවන විතරක් බලාපොරොත්තුවෙන් දෙනව නම් එතන සසංකාරික සිතක් නෑ. නමුත් ඒ සසංකාරික සිත නොවන සිතට අටුවාචාරීන් විසින් පසු කාලයක අසංකාරික හිත කියල වචනයක් හදාගෙන තියෙනවා.

ඒ අනුව, සෝමනස්ස සහගත ඥාන සම්ප්‍රයුක්ත අසංකාරික හිත, සෝමනස්ස සහගත ඥාන විප්ප්‍රයුක්ත අසංකාරික හිත, උපේක්ෂා සහගත ඥාන සම්ප්‍රයුක්ත අසංකාරික හිත, උපේක්ෂා සහගත ඥාන විප්ප්‍රයුක්ත අසංකාරික හිත කියල සමහර අටුවාවල සඳහන් වෙනවා. හැබැයි ඒක පෙළ දහමෙ නෑ. මොකද සංඛාරවලින් තොරව සිතක් හට ගන්නෙ නෑ. ඒ නිසා සසංකාරික කියනව මිසක් අසංකාරික සිත් නෑ. නමුත් නිවන හැර ලෝකයෙන් යමක් බලාපොරොත්තු නොවී දන් දෙනකොට එතනදි සෝමනස්ස සහගත ඥාන සම්ප්‍රයුක්ත සිත, ඥාන විප්ප්‍රයුක්ත සිත... ආදී වශයෙන් කියනව මිසක් අසංකාරික සිත කියල කියන්නෙ නෑ. කොහොම නමුත් අටුවාචාරීන් එතනදි අසංකාරික සිත කියල අදහස් කරල තියෙන්නෙ, ලෞකික වශයෙන් යමක් බලාපොරොත්තු නොවීම නිසා හට ගන්න සිත කියන කාරණය තේරුම් ගන්න ඕන. ඒ නිසා දානයක් දෙනකොට මේ කාරණා ගැන සැලකිලිමත් වෙලා, සෝමනස්ස සහගත ඥාන සම්ප්‍රයුක්ත උත්කෘෂ්ට සිතක් හදාගන්න උත්සාහ කරන්න ඕන. මේ දහම

දැනගත්තට පස්සෙ එහෙම හිතක් ගොඩනගන්න පුළුවන්. ඒ වගේම දානය කිව්වම, තමන් අනන්ත සංසාරයේ අනුන්ගෙන් ගත්ත ණය දානවා, ආපහු දෙනවා කියන අදහසිනුත් දානය දිය යුතු බව මීට කලින් විස්තර කළා. (හෙළ බොදු පියුම 4, 32 කලාපවලින් ඒ විස්තරය ඉදිරිපත් කරල තියෙනවා.) ඒ නිසා ඒ කාරණයත් මේ දැනීමට එකතු කර ගන්න ඕන.

දානයක් දෙන කොට අනෙක් වැදගත් කාරණය තමයි තුන් සිත පහදවා ගෙන දන් දීම. **තුන් සිත කිව්වෙ දන් දෙන්න කලින් ඒ සඳහා ලෑස්ති වෙනකොට පහන් සිතින් සිටීම, දානය දෙන වෙලාවට පහන් සිතින් සිටීම, දුන්නට පසුවත් පහන් සිතින්ම සිටීම.** ඒ අනුවත් ලැබෙන ප්‍රතිඵල අඩු වැඩි වෙන්න පුළුවන්. ඒ වගේම මේ තුන් සිත පහදවා දන් දීම කියන කාරණයත්, කෙනෙක් දෙන දානයක් දිහා බලන් ඉඳල තවත් කෙනෙකුට කර ගන්නත් පුළුවන්. හරියට අර අනේපිඬු සිටුතුමා ආරාම පූජාව කරන දිහා පැත්තක ඉඳන් බලාගෙන සාදුකාර දුන්න දුගී මනුස්සය වගේ.

ඉතින් දානයක් දෙන්න පෙර සූදානම් වෙනකොට කල් තියාම පහන් සිතින් ඒ වැඩ කටයුතු පටන් ගන්න ඕන. ඒකට අවශ්‍ය කරන යහපත් පසුතලය හදාගන්න ඕන. තමන් තනියෙන් දානයට අත ගහන්නෙ නැතිව අනෙක් අයත් කෙරෙහි අනුකම්පාවෙන් තව තවත් අය සම්බන්ධ කරගන්න ඕන. ඒ වගේම දැහැමින් උපයාගත් ධනය ඒ සඳහා යොදවන්න ඕන. ඒ දෙන දානය ගැන චිත්ත ප්‍රසාදයෙන් කතා කරල අනෙක් අයත් දැනුවත් කරන්න ඕන. බුද්ධ සාසනය උදෙසා නම් දන් දෙන්නෙ, අනන්ත සත්ත්වයින්ගෙ සසර ගිනි නිවන මේ වගේ මහා ගුණ තියෙන අයටයි අපි මේ දන් දෙන්නෙ කියන කාරණය තේරුම් ගන්න ඕන. ඒ පිළිබඳ සතුටු වෙන්න ඕන.

ඊළඟට දානය පූජා කරනකොටත් චිත්ත ප්‍රසාදයෙන් යුක්තව අලෝභ, අදෝස, අමෝහ ගති මුල් කරගෙන සියතින්ම පූජා කරන්න ඕන. ඒ කියන්නෙ ත්‍රිහේතුක සිතකින්. අනිත් අයට අත ගස්සවල තමන්ගෙ අතින්ම පූජා කිරීමත් විශේෂයි. අන්තිමට දානය දුන් පසුවත් ඒ ගැන චිත්ත ප්‍රසාදයක් මතු කරගන්න ඕන. ඒ ගැන වර්ණනා කරමින් කතා කරන්න ඕන. සහසම්බන්ධ වෙච්ච සියළු දෙනාටත්, අනන්ත සසරෙ උදව් උපකාර කරපු, අවැඩ අසාධාරණ වූ, මේ පින් බලාපොරොත්තු වෙන සෑම සියළු දෙනාටත් පුණ්‍යානුමෝදනා කරන්න ඕන. ඒ දානයේ වටිනාකම ගැන සතුටු වෙන්න ඕන, අනිත් අයටත් කියන්න ඕන. ඒ අයත් මේ වගේ දානමාන දෙන්න උනන්දු කරවන්න ඕන. මේ කාරණා ඉතින් තම තමන්ට පුළුවන් විදිහට තම තමන්ගෙ අවබෝධයේ හැටියට කරන්න පුළුවන්. අද සමාජයේ ඉන්න අය කොච්චර කාලය, ධනය, ශ්‍රමය වැය කරල මහා පරිමාණ දන් දුන්නත් ඒවායින් 100% ක් ප්‍රතිඵල නොලැබෙන්නෙ මේ කාරණා ගැන දැනුවත් නොවීම නිසා.

ඒ නිසා කම්මැලි වෙලා අනුන්ට විධාන කරල දානය දෙන්නෙ නැතිව, තමන් විසින්ම ලෝකයේ කිසිවක් අල්ල ගන්නෙ, බලාපොරොත්තු වෙන්නෙ නැතිව මුල, මැද, අග කියන තුන් අවස්ථාවේදිම සිත පිරිසිදු කරගෙන දෙන දානය උපනුපන් තැන්වල මහත් සම්පත් ලබා දෙන්න හේතු වෙනවා.

**අන් හට අලසව නොකොට විදානය**
**පින් මිස අනෙකක් නොකොට අදානය**
**තුන් සිත පිරිසිදු කොට දුන් දානය**
**උන් ගිය ගිය තැන ලැබෙයි නිදානය**

(ලෝවැඩ සඟරාව)

දන් මෙතනදී ''පින් මිස අනෙකක්...'' කියල කිව්වම පෙන්වන්නෙ, නිවන් සුවය මුල් කරගෙන දන් දීම. ඒ චේතනාව බලවත් වුණාම ඒ සිත සසංකාරික වෙන්නෙ නෑ. ඒක සෝමනස්ස සහගත ඥාන සම්ප්‍රයුක්ත උත්කෘෂ්ට සිතක්.

අවසානයේ අපි දැන ගන්න ඕන වැදගත් කාරණයක් තියෙනවා. දන් දීම හොඳ දෙයක්, ඒ වගේම ලොව්තුරා බුදුන් වහන්සේලා අනුමත කළ දෙයක්. නමුත් ඒ දන් දීමෙන් ලැබෙන ප්‍රතිඵලයට ගිජු නොවෙන්න, නොඇලෙන්න වග බලාගත යුතුයි. මොන ලැබීම ලැබුනත් ඒක ගෙවිල වැනසිලා යන දෙයක් කියල තේරුම් ගන්න ඕන. එදා සිටුවරු හිටියා. හතර මහ නිධානය පහල වෙච්ච සිටුවරු හිටියා. මහේ ශාක්‍ය රජවරු හිටියා. ඒ සියල්ලම එහෙම වුනේ, ඒ අය පෙර දන් දීපු ඒවායේ විපාක නිසා. ඒත් අද ඒ අය කෝ? ඒ හදපු සිටු මැදුරු රජ මාලිගා කෝ? සේරම ගෙවිල වැනසිලා ගිහින්. ඒ නිසා ඒ ලැබීම, හරියට කෙනෙක් මගුල් ගෙදරක යන්න ණයට ඉල්ලගෙන ගිය ඇඳුම් ආභරණ වගේ.

**පිරුලෙන් අරගත් අභරණ මගුලට**
**දමමින් ගැති වන අය මෙන් අනුනට**
**පෙර පින් ඇති තෙක් විඳිනා සැපතට**
**තෙපි දුන් උඩගුව නොවදිව් නිරයට**

(ලෝවැඩ සඟරාව)

ඇඳුම්, ආභරණ ඇඳගෙන ඉන්න කල් ලස්සනයි. ඒත් මගුල් ගෙදර ඉවර වුන ගමන් නැවතත් අයිතිකාරයට දෙන්න ඕන. ඒ හැඟීම තියාගෙනයි මගුල් ගෙදරදි වුනත් සතුටු වෙන්නෙ. ඒ වගේ අපිටත් ලැබිච්ච යම් ලැබීමක් තියෙනව නම්, අන්න අර ණයට ඇඳුම්, ආභරණ ඉල්ලගෙන ගිය කෙනා වගේ ඉන්න ඕන. මගුල් ගෙදරදි කොච්චර සතුටු වුනත්, ඉල්ලගෙන ආපු ඇඳුම් ටික, ආභරණ ටික නැවත දෙන්න ඕන කියල තමන්ගෙ හිත දන්නවා. ඒ ඇඳුම් ආභරණවලට අමුතුවෙන් උද්දාම වෙන්න, ආඩම්බර වෙන්න දෙයක් නෑ. කොයි මොහොතෙ හරි දෙන්න ඕන කියල දන්නවා. මේ මගුල් ගෙදරට යන්න ඕන නිසා ඉල්ල ගත්ත දෙයක් මිසක් අයිති කරගෙන උද්දාම විය යුතු දෙයක් නෙවෙයි. අන්න ඒ විදිහට අපේ මේ සසර ගමන ගැනත් හිතන්න ඕන. ලැබුන ලැබීමක් තියෙනව නම්, ඒක කොයි මොහොතෙ හෝ ගෙවිල වැනසිලා යනව කියල දැනගෙන වැඩ කරන්න ඕන. එතකොට ඒ ලැබුන දේ පරිහරණය කරනවා, ඒකට ඇලීමක් හෝ ඒ දේවල් විනාස වෙනකොට ගැටීමක් හෝ එන්නෙ නෑ. යම් අංශු මාත්‍රයකින් හෝ රාගක්ෂය වෙනවා, ද්වේශක්ෂය වෙනවා, මෝහක්ෂය වෙනවා. අවසානයේ නිවනින්ම සැනසෙනවා.

(ඉතිරි කොටස ලබන කලාපයෙන්)

*පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු සමග මජ්ජිම නිකාය, උපරිපණ්ණාසපාළි, විභංග වර්ගයේ දක්ඛිණා විභංග සූත්‍රය ඇසුරෙන් සකස් කළේ:*

**ෆික්රි ඉස්මයිල්**
**පරිගණක ඉංජිනේරු - ගොතටුව**
**072-7536839**

# භෞතිකවාදීන්ගේ අවිද්‍යාව හෙවත් විද්‍යාවේ අවිද්‍යාව..... ②

පසුගිය කලාපයේ ලිපියෙන්, විශේෂයෙන් ගති ආකර්ශනය මූලික කර ගෙන පෙන්වා දුන්නෙ, ලෝක සම්මත විද්‍යාවේ අවිද්‍යාව සහ හේතුවාදී, භෞතිකවාදී, සමාජවාදී කියා ගන්නා පිරිස් ලෝකය දිහා බලන ආකාරය හෙවත් ඔවුන්ගේ, ලෝකය දිහා බැලීමේ නුවණ කොච්චර පටුද කියන කාරණය. මේ ලිපියෙන් බලාපොරොත්තු වෙන්නෙ, ඒ ගති ආකර්ශනය තව දුරටත් ගැඹුරින් පැහැදිලි කරල, ඒක අපේ පැරැන්නන් විසින් භාවිතා කරල යහපත උදා කරගත් ආකාරය පැහැදිලි කරන්න.

ගති ආකර්ශනය ලෝකයේ හැම දෙයකටම පොදුයි. සම්මත විද්‍යාවෙන් ගුරුත්වාකර්ෂණ නියමය සහ ඉපිලුම් නියමය සොයා ගන්නත් පෙර, ඒ ගැන ඊටත් වඩා පොදු න්‍යාය ධර්මයක් ලොව්තුරා බුදුන් වහන්සේ බුදු නුවණින් දැකල විග්‍රහ කරල තියෙනවයි කියන කාරණය පසුගිය කලාපයෙන් පැහැදිලි කළා. උදාහරණයක් විදිහට බුදුන් වහන්සේ එක තැනක පෙන්වනවා, යම් කිසි ගිතෙල් පිඬක් වතුර භාජනයකට දාල පින්වත් ගිතෙල යට යාවා කිව්වොත් යට යනවද කියල. ගිතෙල් ජලයට වඩා ඝනත්වයෙන් අඩු නිසා ගති ආකර්ෂණ නියමය අනුව උඩ යනව මිසක් යටට යන්නෙ නෑ. ඒ වගේම ගල් කැටයක් වතුර භාජනයකට දාල, පින්වත් ගල් කැටය උඩ යාවා කියල කිව්වට ඒක යට යනව මිසක් උඩ එන්නෙ නෑ කියල පෙන්වනවා. කෙලෙස්වලින් තොර සුද්ධ හිත ඉහළට හෙවත් සුගතියට යන බවත්, කෙලෙස්වලින් බර අසුද්ධ හිත පහළට හෙවත් දුගතියට යන බව තමයි මේ උදාහරණ දෙකෙන් පෙන්නුවෙ. යාතිකා කරල ඒ වගේ දෙයක් නවත්වන්න බෑ. එතකොට එදත් ඒ වගේ උපමා අරගෙන තියෙනවා.

ඊළඟට ගති රුව, ගති ගුණ, ගති හඬ කියල අන්‍යෝන්‍ය වශයෙන් සම්බන්ධ තවත් කාරණයක් තියෙනවා. ඒකත් මුළු මහත් විශ්වයටම පොදු කාරණයක්. නූතන විද්‍යාවෙන් මේ කාරණය මූලික මට්ටමින් සොයාගෙන පයිරෝ බෝඩ් (Pyro Board) කියන පරීක්ෂණයෙන් පෙන්වා තියෙනවා. එතනදි යම් කිසි තැටියක සමාන දුරින් සිදුරු රාශියක් විදල ඒකට යටින් ඉන්ධන වායුවක් සම්බන්ධ කරල පත්තු කරල, ශබ්ද උත්පාදන යන්ත්‍රයකින් විවිධ සංඛ්‍යාතයන් දෙනවා. එතකොට ඒ සංඛ්‍යාතයන්ට අනුව විවිධ හඬවල් නැගෙනවා. ඒ අනුව අර සිදුරුවලින් එන ගිනිදැල්වල හැඩයත් විවිධාකාර රටාවන් නිර්මාණය කරනවා. ගති හඬට අනුකූල ගති රුවක් තියෙන බව ඒකෙන් ඔප්පු වෙනවා. එතකොට ගති හඬයි, ගති රුවයි දෙකක් තියෙනව කියන්නෙ ඒවාට ආවේනික ගති ගුණයකුත් තියෙනවා. ඒ වගේ ගති ගුණයකුත් තියෙන නිසාමයි සංඛ්‍යාතය වෙනස් කරනකොට ඒ හැඩ තල වෙනස් වෙන්නෙ.



ඊළඟට අනුනාදය (Resonance) කියල දෙයක් විද්‍යාවෙන් සොයාගෙන තියෙනවා. ඒ කියන්නෙ යමක් කම්පනය වෙනකොට ඊට අනුකූලව තවත් දේවල් කම්පනය වෙනව කියන අදහස. ඒක හරියට බුදු දහමේ පෙන්වන අනන්තර - සමනන්තර ප්‍රත්‍ය වගේ දෙයක්. ලෝකය තුළ පවතින හැම දෙයක්ම තරංග හෙවත් කම්පන (Vibration) විදිහට පවතිනව කියල නූතන විද්‍යාවෙන් කියනවා. ඒ කාරණයේ වඩාත් ගැඹුරට ගිය ක්වොන්ටම් භෞතික විද්‍යාවෙදි (Quantum Physics) ආලෝකය පවා ගමන් කරන්නෙ තරංග ආකාරයට කියල සොයාගෙන තියෙනවා.

හැබැයි අපි පාසල් අධ්‍යාපනයෙදි ඉගෙන ගත්තෙ, ආලෝකය කිරණ විදිහට ගමන් කරනව කියල. ඉතින් එදත් අපි ඉගෙන ගත්ත ඒ එක්තරා මට්ටමක සත්‍යතාවය, පසු කාලයකදි ඊට වඩා ඉහළ මට්ටමක සත්‍යතාවයකින් සොයාගෙන තියෙනවා. එතකොට අපි ඒ මුලින් ඉගෙන ගත්තු බාල කාරණය තුළ ජීවත් වෙලා තීරණ අරන් තියෙන්නෙත් ඒ කාරණා කරපින්නගෙන. පසු කාලයක ඒ කාරණා අභිබවා ගිය දෙයක් සොයා ගන්න කල් අපි ඒ තුළ ජීවත් වෙනවා. හැබැයි බුදු දහමින් මතු කරපු දෙයක් එහෙම කාලයත් සමග වෙනස් වෙන්නෙ නෑ.

තවත් උදාහරණයක් ගත්තොත්, පහළ පන්තිවලදි අපි යම් කිසි සමාන ගල් කැට දෙකක් අරගෙන එකයි එකයි එකතු කළාම දෙකයි කියල කියනවා. හැබැයි ඉහළ පන්තිවලට යද්දි ඒ කාරණය එහෙම නෙවෙයි කියල උගන්වනවා. මොකද ලෝකයේ තියෙන එකම ජාතියක ද්‍රව්‍ය දෙකක් වුණත් 100% ක්ම එක හා සමාන නෑ. අංශු මාත්‍රයකින් හරි එකක් කුඩායි. අනික ලොකුයි. යන්ත්‍රානුසාරයෙන් මිම් අරගෙන යන්ත්‍රානුසාරයෙන්ම නිෂ්පාදනය කරපු භාණ්ඩ දෙකක් ගත්තත් එක හා සමාන නෑ. අංශු මාත්‍රයක හරි වෙනසක් තියෙනවා. ඒ නිසා සමාන වස්තු දෙකක් අරගෙන එකයි එකයි දෙකයි කියල එකතු කළාම එක්කො දෙකට අඩු, එකයි දශම ගණනක් එන්න ඕන. එහෙම නැත්නම් දෙකට වැඩි, දෙකයි දශම ගණනක් එන්න ඕන. මොකද ලෝකයේ කිසිම දෙයක් ඒක හේතුක නෑ, බහු හේතුකයි. ඉතින් මේ ආලෝකය තරංග ආකාරයට ගමන් කරනව කියන සොයා ගැනීම ක්වොන්ටම් භෞතික විද්‍යාව කියන සූක්ෂම භෞතික විද්‍යාවටත් අහුවෙන දෙයක්. නමුත් මේවා සාමාන්‍ය ජනතාව දන්නෙ නෑ. මේකත් අදට හෙළිදරව් කරගෙන තියෙන ☞

එක සොයා ගැනීමක් විතරයි. තවත් සැඟවුණු දේ කොච්චර ඇත්ද?

ඒ ගැන තව දුරටත් සොයා බලන කොට, ජලයට ශබ්ද තරංග එකතු කිරීමේ පරීක්ෂණයක් අපට හමු වෙනවා. ඒක අන්තර්ජාලයේ Youtube වල Amazing Water & Sound Experiment කියල සඳහන් වෙනවා. එතනදි කරන්නෙ බටයකින් ජලය වැටෙන්න සලස්වල, ඒ බටයෙන් ජලය වැටෙන තැනට ශබ්ද නිකුත් කරන උපකරණයක් මගින් යම් නිශ්චිත හඬක් (තරංගයක්) ලබා දීම.

එතනදි ඔවුන් පළමුවෙන්ම කරන්නෙ 24 hz කියන හඬ හෙවත් තරංගයේ සංඛ්‍යාතය බටයේ ජලය පිට කරන මූල ස්ථානයට නිකුත් කිරීම. එතකොට පුදුම දෙයක් සිද්ධ වෙනවා. ඒ 24 hz දි ජලය වැටෙන්නෙ සිග් සැග් (zig zag) ක්‍රමයට. තව දුරටත් ඔවුන් බටයේ මුලට 25 hz සංඛ්‍යාතය දරන හඬ නිකුත් කරනවා. එතකොටත් ඒ ජලය සිග් සැග් (zig zag) රිද්මයට පහලට වැටෙන බව පේනවා. නමුත් පුදුමයෙන් පුදුමයට පත්වන කාරණාව නම්, 23 hz දි නිකුත් කරන හඬ ජලයට එකතු කළාම, ජලය බිමට වැටුනත් අපේ ඇසට සහ කැමරා ඇසට පේන්නෙ ඒක සිග් සැග් (zig zag) රිද්මයට ආපසු බටය තුලටම ගමන් කරන බව. හැබැයි ජලය වැටෙන්නෙ පොළොව දෙසටමයි. ඒ කියන්නෙ ජලයේ තියෙන තද (පඨවි) ගතිය සහ ජල රූපය සොයාගෙන තමයි ජලය ගලන්නෙ. නමුත් 23 hz දි ඇස අපිව මොහොතකට රවටනවා. ඒ කියන්නෙ කම්පනයෙන් හට ගත් තරංගය ඉහළට ගමන් කරන කොට ඇස් දෙකට පේන්නෙ ජලය ඉහළට ගමන් කරනව කියල.

මේ වගේ සංසිද්ධි අපිට එදිනෙදා ජීවිතයෙදිත් අත් දකින්න ලැබෙනවා. උදාහරණ විදිහට යම් කිසි කාමරයක විදුලි පංකාවක් ක්‍රියාත්මක කරල ඒ අතරින් විදුලි බල්බයක් දල්වල තියෙද්දි, ඒ විදුලි පංකාවෙ වේගය තව දුරටත් වැඩි කළොත්, එක්තරා අවස්ථාවකදි පංකාවෙ පෙති අනික් අතට (ප්‍රතිවිරුද්ධ අතට) කැරකෙනව වගේ පේනවා. ඒ වගේම සමහර චිත්‍රපටවල අධික වේගයෙන් වාහනයක් ගමන් කරන කොටත්, ඒ වාහනයේ රෝද පසුපසට කැරකෙනව වගේ පේනවා. එතනදි චිත්‍රපටය චලනය වන සංඛ්‍යාතයයි, වාහනය ගමන් කරන සංඛ්‍යාතයයි ගත්තම, එකක සංඛ්‍යාතය අනෙකේ සංඛ්‍යාතයට වඩා වැඩි වුණාම අපට පේන්නෙ එකක් ප්‍රතිවිරුද්ධ අතට ගමන් කරනව වගේ.

මේ කාරණය සඳහන් කළේ අපේ ඇස, කන, නාසය, දිව, ශරීරය කියන පංචේන්ද්‍රියන් මගින් රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ ගන්නකොට මුළා වීම්වලට ලක් වෙන්න පුළුවන් බව පෙන්වන්න. ඒ කාරණය ඉතා හොඳින් පසුගිය ලිපියෙදි පැහැදිලි කළා. නමුත් මේකෙන් ඉස්මතු කරන්න යන තවත් වැදගත් කාරණයක් තියෙනවා. ඒ තමයි, ද්‍රව්‍ය වස්තුවලට යම් කිසි ගති හඬක් එකතු කිරීම මගින් එහි රූපය ඒ ගති හඬට අනුව වෙනස් වන බව, මේ ලෝකයේ ජීවත් වෙන බොහෝ දෙනා පිළිගන්න නවීන විද්‍යාවෙන්ම පැහැදිලි කිරීම. නමුත් මේ කාරණය බුදු පියාණන් වහන්සේ උන්වහන්සේගෙ මහා විදු නුවණින් දැකල මීට අවුරුදු 2600 කටත් පෙර පැහැදිලි කරල තියෙනවා. ඒ කාරණය සඳහන් වෙන්නෙ පටිච්ච සමුප්පාදය විදිහට. ඒ වගේම එදා විසාලා මහනුවර තුන් බිය ඇති වුණාම, පිරිත් පැන් ඉසීමෙන් ඒ තත්ත්වය දුරු කරනකොටත් එතන ඇති වුණේ මේ ගති ගුණ, ගති හඬ, ගති රුව කියන මූල ධර්මය. මොකද පිරිත් කියන කොට ඒ ගති ගුණවලට අනුකූල ගති හඬ, ගති රුව ඇති වෙලා තමයි ඒ පරිසර තත්ත්වයන් වෙනස් වුණේ.

මේ කාරණය තව දුරටත් පැහැදිලි කළොත්, අපි කැමැත්තෙන් බැඳෙන විදිහට (පටිච්ච) සමාන දෙයක් උත්පාදනය (සමුප්පාද) කරල දෙනවා. ඒක ගැලපුවම සරල අදහස වෙන්නෙ, කැමැත්තෙන් බැඳුණම ඊට සමාන උපතක් සිදුවන බව. ඒක මරණින් මතු විතරක් නෙවෙයි, ජීවත් වෙනකොටත් සිද්ධ වෙන දෙයක්. ඒ කාරණය මුළු විශ්වය තුලම පවතින ද්‍රව්‍ය, වස්තු, සත්ත්ව, පුද්ගල යන සියල්ලටම පොදු දෙයක්. මේ පිළිබඳව දීර්ඝ විස්තරයක් පෙර කලාපවලදි සඳහන් කරල තිබුණත්, තව දුරටත් පැහැදිලි කරන්න අවශ්‍ය නිසා නැවතත් කෙටියෙන් සඳහන් කරනවා.

මේවා පෙර ජන වහර තුල ඉතා ප්‍රචලිත දේවල්. ''බලු වැඩ කරන්න එපා පුතේ උඹ බල්ලෙක් වෙයි.'' මේ අපේ අම්මල තාත්තල ළමයින්ට අවවාද කරන්න යොදා ගත්ත ව්‍යවහාර භාෂාවක්. මේ කතාව සරලව පැහැදිලි කළොත්, ලෝකයේ තියෙන සත්පුරුෂ බහ හෙවත් ඒ භාෂාව අනුව වැඩ නොකළොත්, ඒ කියන්නෙ බහ ''ලූ'' කළොත්, ඉවත දැම්මොත් බහ + ලූ - බලු වෙනවා. දැන් කෙනෙක් කියන්න පුළුවන්, එහෙනම් මේ ඉන්න හැමෝම බල්ලො වෙන්න එපැයි කියල. නමුත් මේ ලෝකයේ තියෙන කිසි දෙයක් ඒක හේතුක නෙවෙයි. ඒ කියන්නෙ එක හේතුවකින් විතරක් සිද්ධ වෙන්නෙ නෑ. බල්ලෙක් වෙන්න නම් බලු වැඩ බහුලවම කරල ඒකම බල ගන්වල උපාදාන කරන්න ඕන. ඒ කියන්නෙ බොහෝ සෙයින් බලු වැඩ කරල ඒ බලු ගති උපාදාන කළොත් බල්ලෙක් වෙන්න හේතු වෙනවා. මජ්ඣිම නිකාය (2) 84 පිටුවේ එන <u>කුක්කුරවතිය සූත්‍රයේ</u> මේ විදිහට බල්ලෙක් වෙන්න හේතු පැහැදිලි කරල තියෙනවා.

මේ කාරණය තවත් පැහැදිලි කරන්න පුළුවන්. කෙනෙකුට බලු වැඩ කරල සමාජයේ ඔළුව කෙලින් තියාගෙන ගුණවතුන් ඉදිරිපිට අවංකව ඉන්න බෑ. ඔවුන් ගුණවතුන් ඉදිරිපිටදි ඔළුව නවා ගෙන හැංගි හොරා තමයි යන්නෙ. ඒ කියන්නෙ තිරස් අතට. ඒ නිසා තමයි බල්ලන්ට තිරිසනුන් කියල කියන්නෙ. තිරස්ව චරණ නිසා තිරශ්චීන කියලත් කියනවා. එතකොට බුද්ධ දේශනාවෙ පැහැදිලි කිරීමට අනුව, තිරිසනුන් ඉන්නෙ තිරිසන් අපායෙ. ඔවුන් අපායෙ යන්නෙ, ගුණවතුන් විසින් පිළිගන්න දස කුසලය අහකට දාල, ගුණවතුන් විසින් කරන්න එපා කියන දස අකුසලය කරන නිසා. ඒ කියන්නෙ එපා කියන දේ එකතු කරගත්තම, එහෙම නැත්නම් අය කරගත්තම, ''එපා + අය'' - අපායට යනවා.

දැන් ප්‍රශ්නයක් එන්න පුළුවන් ''එපා'' කොහොමද ''අපා'' වුනේ කියල. හොඳට මතක් කරල බලන්න, පොඩි ළමයි නලවන වැඩිහිටියො ඒ ළමයින්ට ගුණ දහම් උගන්වනකොට, යමක් කරන්න එපා කියල කියන්න පාවිච්චි කරන්නෙ ''එපා පුතේ'' කියල නෙවෙයි, ''අපා පුතේ අපා...'' කියල. අන්න එතකොට, අපා කියන එකේ මූල හඬ හෙවත් ගති හඬ එනවා. ඉතින් අපේ පැරැන්නො මේවා බොහෝ කලකට ඉහතදි දැනගෙන ඉඳල තියෙනවා. අද නවීන විද්‍යාව එදා නොතිබුනත්, සද්ධර්මය අහල අවබෝධ කරගෙන තමයි ඒක

දැනගෙන තියෙන්නෙ. ඒ අය ඊට අනුව වැඩ කරල යහපත උදාකරගෙන තියෙනවා.

මේ ලෝකෙ යම් හඬක්, රුවක්, ගුණයක් තියෙනව නම් ඒවා හැදිල තියෙන්නෙ යම් ක්‍රම රටාවකට අනුකූලව. හොයල බැලුවොත් ඒ හැම දේකටම, හැම ශබ්දයකටම අදාළ රුවක්, ගුණයක් තියෙනවා. ඉතින් මේක පැහැදිලි කරගන්න, ඉගෙන ගන්න යමෙකුට අවශ්‍ය නම්, ධ්‍යාන වඩල ද්‍රව්‍ය පදාර්ථ ඥානය මූලික කරගත් නිරුක්ති ඥානය ලබා ගන්න වෙනවා. බුදු දහමෙ අභිධර්මය තුළ විශේෂයෙන්ම විභංග කරල පෙන්වල තියෙන්නෙ පටිච්ච සමුප්පාදය, පංච ස්කන්ධය, ධාතු විභංගය... ආදී අත්‍යවශ්‍ය කාරණා. විභංගප්‍රකරණයේ දෙවන කාණ්ඩයේ අත්ථ, ධම්ම, නිරුක්ති, පටිභාන කියන කාරණා විශේෂයෙන් විභංග කරල පෙන්වා තියෙනවා. ඒක තමයි පටිසම්භිදා විභංගය කියන්නෙ.

මේ සඳහා උදාහරණ බොහොමයක් දෙන්න පුළුවන්. නමුත් ඉහත උදාහරණයෙන් මේ කාරණය ඉතා හොඳින් පැහැදිලි වන නිසාත්, පෙර කලාපවල මේ ගැන බොහෝ කරුණු පැහැදිලි කරල තියෙන නිසාත්, මෙතනදි තව එක උදාහරණයක් විතරක් පැහැදිලි කළාම ප්‍රමාණවත්. ඒ කියන්නෙ, මේ මෑත කාලයකදි අපේ වහරට එකතු වෙච්ච වචනයක් තියෙනවා ''ජාන'' කියල. මේ වචනය එකතු කරන්න ඇත්තෙ බොහෝ දුරට වෛද්‍යවරයෙක් වෙන්න ඇති. නමුත් මේකෙ මූලික අරුත හොයල බැලුවම අපිට පේන්නෙ ''ජාතක වන නියාය'' කියල. නවීන විද්‍යාව පමණක් පිළිගන්න බොහොමයක් වෛද්‍යවරුන්ගෙන් කෙනෙක් මේ වචනය හැදුවත්, ඒ වචනය පටිච්ච සමුප්පන්නව හැදිල තියෙන්නෙ ලෝක න්‍යායට (නියාය) හෙවත් ගති ගුණ, ගති රුව, ගති හඬ කියන න්‍යායට අනුවමයි.

දැන් කෙනෙකුට තවත් ප්‍රශ්නයක් එන්න පුළුවන්, සිංහලෙන් මේවාට උදාහරණ පෙන්නුවට අනිත් භාෂාවලින් උදාහරණ පෙන්වන්න බැහැනෙ කියල. ඒක හරියට මේ වගේ දෙයක්. අලුත ඉපදුන ළමයෙකුට නමක් දානවා. සමහර විට උපන් වෙලාව බලල නම දාන්නත් පුළුවන්. කොහොම හරි අපි හිතමු ඔහුට ''කුමාර'' කියල නමක් දම්ම කියල. නමුත් ඔහු ලස්සන සුදු කුඩා දරුවෙක් නිසා ඔහුට ගෙදර අය ''සුදු මහත්තයා'' කියල කතා කරනවා. හැබැයි ඔහුට පාසලේදී කතා කරන්නෙ ''කුමාර'' කියල. පසු කාලයක ඔහු විශ්වවිද්‍යාලයට යනවා. විශ්වවිද්‍යාලය තුළදිත් අන්වර්ථ නම් පටබඳින බව කවුරුත් දන්න කාරණයක්. ඔහු කෙට්ටු උස කෙනෙක් නිසා, ඔහුට එතනදි ''දිගා'' කියල නම පටබඳිනවා. ඉතින් දැන් එකම කෙනෙකුට ඒ පුද්ගලය ඉන්න විවිධ ගති දිහා බලල විවිධ නම් තියනවා. ඒ වගේ තමයි එකම දෙයක් වෙනුවෙන් විවිධ රටවල විවිධ නම් තියල තියෙන්නෙ. නමුත් ඒ හැම එකක්ම මොකක් හරි ගතියක් මුල් කරගෙන තමයි තියල තියෙන්නෙ.



**විවිධ හැඟීම්වලින් යුත් හඬවල් ජලයට එකතු කර සිදු කළ පරීක්ෂණයන්**

උදාහරණයක් විදිහට breakfast කියන වචනය ගත්තොත්, fast - උපවාසය break - නවත්වනවා කියන අදහස තමයි එන්නෙ. ඒ කියන්නෙ රෑ නිදා ගන්න පෙර ආහාර ගත්තට පස්සෙ පැය ගණනාවක කාලයක් ආහාර නොගැනීමේ උපවාසයට විවේකයක් දෙනවා, ඒ උපවාසය නවත්තනවා කියන අදහස. breakfast කියන වචනයේ අර්ථය හරියට මේ අදහසට ගැලපිලා තියෙන බව පේනවා.

තවත් උදාහරණයක් විදිහට Understand කියන වචනය ගන්න පුළුවන්. Under + stand - යටින් හිට ගන්නවා කියන අදහස. ඒ කියන්නෙ යමෙක් තව කෙනෙකුට යමක් කියල දීල ඒක තේරුණාද කියල අහන්න පාවිච්චි කරන වචනය. එතකොට තේරුණා නම්, Understand කියනවා. ඒ කියන්නෙ යමක් කියපු නිසා පිළි අරගෙන ඒක යට ඉන්නව වගේ අදහසක්. හැබැයි යමක් Stand කරනව කිව්වොත් අදහස් වෙන්නෙ, ඒක තමන්ටම අවබෝධ වෙලා අනුන්ගෙ පිළිසරණක් නැතිව තමන්ම ඒ ස්ථාවරයේ ඉන්නව කියන එක. උදාහරණයක් විදිහට චතුරාර්ය සත්‍යය දේශනා කරල බුදුන් වහන්සේ භික්ෂුණ් වහන්සේලාගෙන් අහනවා, ඒක පිළිග න්නෙ මම කියපු නිසාද, මට තියෙන ගරු බයටද... ආදී වශයෙන්. එතකොට භික්ෂුණ් වහන්සේලා කියනවා, නෑ ස්වාමීනී, අපි අවබෝධයෙන් තමයි පිළිගන්නෙ කියල. ඒ කියන්නෙ Understand නෙවෙයි, Stand කියන එක. නමුත් ඉංග්‍රීසි භාෂාව කියන්නෙ, පසු කාලීනව වාණිජ අරමුණින් වෙනත් භාෂාවල වචන එකතු කරල හදා ගත්තු කෘතිම භාෂාවක් නිසා, නියම අරුත හැම දේකින්ම නොඑන්න පුළුවන්. නමුත් ඒවත් ගැඹුරින් පරික්ෂා කරල මූල භාෂාවට ගියොත්, ඒ හැම වචනයකටම අරුත් තියෙන බව දැනගන්න පුළුවන්. මොකද ලෝකයේ තියෙන සියල්ල පටිච්ච සමුප්පන්නයි, සංඛතයි, හේතුඵලයි. හේතුවක් ඇතිව මිසක් නමක් වුනත් නිකං ගෙතෙන්නෙ නෑ.

**කොහොම වුනත්, රට කොහේ වුනත්, කාට දාව ඉපදුනත්, මොන භාෂාව කතා කළත්, රිදෙන ගතියට ''ආව්'' කියල තමයි හැමෝම කියන්නෙ. අඬන්නෙ එකම විදිහට. හිනා වෙන්නෙත් එකම විදිහට. ඒවා විශ්ව සම්මත හැඟීම් පිට කරන භාෂාවල්. කොයි අම්මගෙ කිරිත් සුදු පාටයි. ළමය අඬන හඬට තමයි කිරි එරෙන්නෙ. ඒ දේවල් සිද්ධ වෙන්නෙ ගති රුව, ගති ගුණ, ගති හඬ කියන ලෝකයේ පොදු නියාමයට අනුවමයි.**

මේවා මෙච්චර පැහැදිලි කරන්න හේතු වුනේ, මේ භෞතිකවාදීන්, හේතුවාදීන් කියා ගන්නා අය සෙත් කවි, වස් කවි, ඇස්වහ, කටවහ, හෝවහ, අඳෝවැඩියා, පිරිත් කීම, පිරිත් පැන්, පිරිත් නූල්, යන්ත්‍ර ජීවම් කිරීම් ආදී මේවා බොරු දේවල් හෙවත් මිත්‍යාවෙන්, අන්ධ ☞

භක්තියෙන් කරන වැඩ කියල අහකට දාල ඒවා බැහැර කරන නිසා, ඔවුන් හිස් මුදුනෙන්ම පිළිගන්න ලෝක සම්මත විද්‍යාවෙන්ම කරුණු පෙන්වල විද්‍යානුකූලවම මේ කාරණය පැහැදිලි කරන්න ඕන නිසා.

දැන් ඉහතින් සඳහන් කළ අනුනාදයට (Resonance) තවත් උදාහරණයක් තියෙනවා. ඒ හැම හඬකටම ගති රුවක්, ගති ගුණයක් තියෙනවා. ඒවත් නූතන විද්‍යාත්මක සොයා ගැනීම් විදිහට Youtube එකේ Resonance Experiment විදිහට වීඩියෝ දර්ශන සහිතව ඉදිරිපත් කරල තියෙනවා. ඒ අතර ඇලුමිනියම් තැටියක් යටින් ස්පීකරයක් තියල 100 hz - 7000 hz විදිහට හැම ශබ්ද සංඛ්‍යාතයකටම අදාළව පිළිවෙළින් හඬක් නිකුත් කරන ගමන් ඒ තැටිය මතට පිටි හෝ ලුණු වගේ සියුම් කුඩක් එකතු කරනවා. ඒ හැම අවස්ථාවකදීම ඒ සංඛ්‍යාතයට අනුකූලව ඒ එකතු වන හඬ වෙනස් වෙනකොටම ඒ අවස්ථාවෙ රූපයත් (ගති රුවත්) වෙනස් වෙනවා. ඒ අනුවත් ශබ්දයට (ගති හඬට) ගති රුවක් තියෙන බව ඔප්පු වෙනවා.

ඉතින් පිරිත් කියනකොට, සෙත් කවි, වස් කවි කියන කොට, ඇස්වහ කටවහ වැදෙනකොට, යන්ත්‍ර ජීවම් කරන කොට වෙන්නෙත් ඒ සිද්ධියමයි. ඒ කියන්නෙ යහපතක් කරන අරමුණින් හෝ අයහපතක් කරන අරමුණින් හෝ පිරිත්, සෙත් කවි, වස් කවි, ඇස්වහ, කටවහ, යන්ත්‍ර ජීවම් කිරීම් ආදිය කරන කොට, ඒ හඬ පිටවෙලා ඒවා ඊට අදාළ ද්‍රව්‍ය, වස්තු තුළට ගැබ් වෙනවා. ඉතින් ඒවා භාවිතා කරන අයට ඊට අදාළ ගුණ පිහිටනවා. මේ කාරණයත් අද නවීන විද්‍යාව සොයාගෙන තියෙනවා.

උදාහරණයක් විදිහට ජපානයේ විද්‍යාඥයින් පිරිසක් විසින් (Dr. Masaru Emoto's Water Experiments - Youtube) පිරිත්, ආදරය, මව් සෙනෙහස, වෛරය වගේ හැඟීම්වලින් යුත් හඬවල් ජලයට එකතු කරල කරපු පරීක්ෂණවලින් ඔප්පු වෙලා තියෙනවා, ඒ හඬවල් අනුව ජල අණුවල විවිධ රටාවල් පිහිටන බව. නමුත් අපිට පිටින් බැලු බැල්මට පේන්නෙ නිකම්ම නිකං ජලය විදිහට. බාහිරින් වෙනසක් පේන්නෙ නෑ. නමුත් මනස දියුණු කරල බැලුවම මේ සියළු දේවල්වල තියෙන යථාර්ථය ඉස්මතු වෙනවා.

දැන් කොහොමද පිරිත්, සෙත් කවි, වස් කවි, ඇස්වහ කටවහ, යන්ත්‍ර ආදිය බොරු කියල කියන්නෙ? ඉතින් ඒ බව දැනගෙන හිටපු පැරැන්නන් ඒවායෙ යහපත් පැත්ත ප්‍රයෝග සම්පත්ති විදිහට යොදාගෙන ජීවිතය සාර්ථක කර ගන්න, කරදර අඩු කරගන්න, යන්තර හදල ජීවම් කරල පැළඳගෙන, පිරිත් පැන් බීල, පිරිත් නූල් ගැට ගහල පාවිච්චි කළා. නමුත් අද ඉන්න බොහෝ දෙනා මේවා පියවි ඇහැට පේන්නෙ නැති නිසා, කනට ඇහෙන්නෙ නැති නිසා ප්‍රතික්ෂේප කරනවා. ඒ නිසා භෞතිකවාදීන් කියල කියාගන්නා අය ජනතාව මුළාවට පත්කරනවා.

හැබැයි ඔවුන් පිරිත්, සෙත් කවි, වස් කවි, ඇස්වහ, කටවහ, යන්ත්‍ර ආදිය ප්‍රතික්ෂේප කරල, ධනාත්මක චින්තනයේ එන "Yes I can do" හෙවත් ''ඔව් මට පුළුවන්'' කියන කාරණය මහ ඉහළින් පිළිගන්නවා. මොකද ඒක බටහිර ජාතීන් හඳුන්වා දුන් නිසා වෙන්න ඇති. ධනාත්මක චින්තනයෙන් කරන්නෙ එකම දේ හෙවත් ''ඔව් මට පුළුවන්'' යන්න දිගින් දිගටම කියල ඒ ගති හඬට අදාළ ගති රුව, ගති ගුණ ඇති කර ගැනීම. නමුත් මේ ධනාත්මත චින්තනයෙත් දෝස තියෙනවා. මොකද ඔවුන් ආත්මයට ධන හෙවත් එකතු කර ගන්න කියන්නෙ ''ඔව් මට පුළුවන්'' කියල වුනත්, මට ඕන දේ කරගන්න හොඳ හෝ නරක හෝ ඒ දෙකම හෝ භාවිතා කරන්න සිද්ධ වෙනවා. එතනදි අනිත් අයට සිද්ධ වෙන දේ ගැන ඒ අයට වැඩක් නෑ. තමන්ට සල්ලි හම්බ කරගන්න පුළුවන් නම්, ඕන දෙයක් කරපන් කියන කාරණය තමයි ඉස්මතු කරන්නෙ. ඉතින් උඩින් ඔපය පෙන්වල යටින් නරක දේ කරනවා.

හැබැයි මේකත් පටිච්ච සමුප්පන්නයි. ඒ කියන්නෙ පටිච්ච සමුප්පාදයට අදාළයි. ''ඔව් මට පුළුවන්'' කියල ලෝකය ජය ගන්න හදන්නෙ හොඳින් නම්, මෙලොව වගේම පරලොවදිත් හොඳ ප්‍රතිඵල අත්වෙයි. ඒ වගේම ලෝකය ජය ගන්න හදන්නෙ නරකින් නම්, මෙලොව වගේම පරලොවදිත් නරක ප්‍රතිඵල අත්වෙයි. නමුත් බුද්ධ සාසනයෙත් ධනාත්මක චින්තනයක් ගැන කියල තියෙනවා. ඒ තමයි සප්ත මහා ධන. ඒ කියන්නෙ ශ්‍රද්ධා ධනය, සීල ධනය, ශ්‍රැත ධනය, ත්‍යාග ධනය, ලැජ්ජා ධනය (හිරි), බය ධනය (ඔතප්ප), ප්‍රඥා ධනය. ශ්‍රද්ධා ධනය කියන්නෙ තුණුරුවන් ගුණ කෙරෙහි පැහැදීම. සීල ධනය කියන්නෙ ආර්යකාන්ත සීලය, පංච සීලය, දස අකුසලයෙන් වෙන්වීමෙන් ලබන සීලය ආදී වශයෙන් ඒ ඒ අයට පිහිටන සිත, කය, වචනයේ සංවර බව. ශ්‍රැත ධනය කියන්නෙ දහම් ඇසූ පිරූ බව. ත්‍යාග ධනය කියන්නෙ තමන්ගෙ මසුරුකමක් නැති බව. ලැජ්ජා ධනය සහ බය ධනය කියන්නෙ පාපයට ලැජ්ජා බව, බිය බව. ප්‍රඥා ධනය කියන්නෙ චතුරාර්ය සත්‍යය දැකීමේ නුවණ හෙවත් ලෝකයේ අනිච්ච, දුක්ඛ, අනත්ත කියන යථා ස්වභාවය දැකීමේ නුවණ.

දැන් කලින් පැහැදිලි කරපු කාරණයට නැවත යොමු වුනොත්, ජලයේ ($H_2O$) කොහොමද ඔය හැම දේම ගැබ් වෙන්නෙ ? හොඳට බලන්න දියමන්ති සහ මිනිරන් දිහා. දියමන්ති සහ මිනිරන් කියන දෙකම පිරිසිදු කාබන් වුනත් සනකම, හැඩය, පාට, රූපය, වටිනාකම එකිනෙකට වෙනස්. ඒ කාබන් අණු දුරින් සහ ළඟින් බැඳීම පමණයි ඒ දෙකේදීම සිද්ධ වෙන්නෙ. ඒ කියන්නෙ දියමන්තිවල කාබන් අණු ළඟින් ළඟින් බැඳිල තියෙනවා. මිනිරන්වල දුරින් දුරින් බැඳිල තියෙනවා. එහෙනම් යම් හඬක් ගැබ් කරල ද්‍රව්‍ය, වස්තු, සත්ව, පුද්ගල කියන ඕනෑම දෙයක් හොඳට හෝ නරකට වෙනස් කරගන්න පුළුවන්.

ඉතින් මේ පැහැදිලි කිරීම්වල අරමුණ තමයි, අපේ පැරණි දේවල් විග්‍රහ කරගන්න බැරිවුන පමණින් ඒවාට ගරහන්නෙ නැතිව, ඒවා තමන්ටත් අනුන්ටත් යහපත උදා කරගන්න උපයෝගී කරගන්න පුළුවන් නම්, ඒවා උපයෝගී කරගෙන යහපත උදා කරගන්න කියන කාරණය පෙන්වාදීම.

(ඉතිරි කොටස ලබන කලාපයෙන්)

*පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණු දහම් කරුණු සමග සකස් කළේ:*

**විද්‍යාවේදී අමිත් සමරනායක**
**බෙල්ලන්තර**
**077 4256683**

# වස විස භාවිතාවේ අඳුරු පැතිකඩ 3

පසුගිය කලාපවලින් ඉදිරිපත් කළ වස විස භාවිතය සම්බන්ධයෙන් තව දුරටත් සාමාන්‍ය ජනතාව දැනුවත් කිරීමේ අරමුණින් තමයි මේ පැහැදිලි කිරීම කරන්නෙ.

අද වෙන කොට මේ සැඟවුණු වස විස භාවිතය නිසා සමාජයම රෝගීන් කරන අතර විශේෂයෙන් දැනට ඉන්න දරු පරපුරත්, ඉපදෙන්න ඉන්න දරු පරපුරත් මේ තත්ත්වයට ගොදුරු වීමේ අවදානම වැඩියි. ඒ හේතුවෙන් සසර කෙළවර කරගන්න හේතු වාසනා තියෙන අයට අනන්තර ප්‍රත්‍යයක් තිබුණත්, මේ කියන ප්‍රයෝග විපත්තිය නිසා ඒ සඳහා සමනන්තරයක් හැදීම නතර වෙන්න පුළුවන්. ඒ නිසා ඔවුන් එයින් ගලවගෙන මේ බියකරු සසරින් ගොඩ එන්න ලැබෙන මනුස්ස අත් භවය ආරක්ෂා කර ගැනීමේ පියවරක් වශයෙන් තමයි මේ දැනුවත් කිරීම කරන්නෙ. ඒ වගේම දැනට ජීවත් වෙලා ඉන්න සියළු දෙනාමත් මේ වස විස කියන ප්‍රයෝග විපත්තියෙන් බේරගෙන ඔවුන්ගේ මනුස්ස අත්බැව් ආරක්ෂා කර ගැනීමත් වැදගත්. මොකද මනුස්ස අත්බවයක් ලැබීම කියන්නෙ දුර්ලභ කාරණයක්. හැබැයි ඒ දුර්ලභත්වයෙන් ප්‍රයෝජන ගන්න තමන් දැන ගන්න ඕන.

මෙතනදි දරු පරපුර ගලව ගන්න පුළුවන් වෙන්නෙ ඔවුන්ගෙ දෙමව්පියන්ටමයි. මොකද අද වෙනකොට දරුවන් ඉල්ලන හැම දෙයක්ම ලබාදෙන්න දෙමව්පියන් පෙළඹිලා ඉන්නවා. සමාජ ජාලවලින්, රූපවාහිනී නාලිකා ඇතුළු ශ්‍රව්‍ය, දෘෂ්‍ය මාධ්‍යවලින් පාරිභෝගික භාණ්ඩවල තියෙන ආස්වාදයම උලුප්පල පෙන්නුවත්, ඒවායේ අඳුරු පැතිකඩ පෙන්වා දෙන්න පෙළඹෙන්නෙ නැත්තෙ, අලෙවිය වැඩිවන තරමට ඒ මාධ්‍යයන් රැකෙන නිසා. කොහොම නමුත් දැනුමක් / හේතු වාසනාවක් ඇති සමාජය රැකිය යුතුයි යන්න බෞද්ධයන් විදිහට අපේ අරමුණ වෙනවා. මේ නිසා තවදුරටත් අපි නොදැනුවත්වම ආහාරවල අඩංගු වස විස ගැන දැනගෙන ඉඳීම වැදගත්.









1) **මෙලමයින් (Melamine)**

මේ රසායනයේ ප්‍රධාන නිෂ්පාදකයා තමයි චීනය. 1990 - 2000 අතර කාලයේ මෙහි ඉල්ලුම අධික වීම නිසා මහා පරිමාණයෙන් නිෂ්පාදනය කළා. වසර 2000 න් පසු යූරියා නිෂ්පාදනය ඉහළ යාමත් සමග මෙලමයින්වලට තිබිච්ච ඉල්ලුම අඩු වුණා. ඒ නිසා අති විසාල අතිරික්තයක් ඉතිරි වුණා. ඒ හේතුවෙන් මේ රසායනය මොනයම් හෝ නිෂ්පාදනයකට අඩංගු කළ යුතු බව ඔවුන් නිගමනය කළා. මේ රසායනයේ අධික නයිට්‍රජන් ප්‍රතිශතයක් [66% (w/w)තෙත බර] අඩංගු මේ රසායනය සුදුපාට දිලිසෙන කුඩු වර්ගයක්. උණු ජලයේ ක්ෂණිකවම දියවන ද්‍රව්‍යයක්. ඒ නිසා තමයි සමහර නිෂ්පාදකයො වියළි කිරිපිටි නිෂ්පාදනයටත් මේ රසායනය යොදා ගන්නෙ. මෙහි අන්තර්ගත වන සංයෝගයන් විදිහට,

1, 3, 5 ට්‍රයිඒසයින් (Triazine), 2, 4, 6 ට්‍රයිඇමයින් (Triamine), සයිනුරෝ ට්‍රයිඒමයිඩ් (Cyanuro Triamide), සයිනුරෝ ට්‍රයිඇමයින් (Cyanuro Triamine), සයනුරමයිඩ් (Cyanuromide) කියන මේවා සඳහන් කරන්න පුළුවන්.

මේවා ශරීරයට ඉතා විස සහිත ප්‍රෝටීන් නොවන නයිට්‍රජන් අඩංගු සංයෝගයන්. දැනට අධ්‍යාපන ආයතනවල ඉගැන්වීම සඳහා යොදා ගන්න සුදු ලෑලි (White Board) වල දිලිසීමට හේතුවන සංයෝගයත් මෙලමයින්.

මේ හේතුන් නිසා විශේෂයෙන් කිරිපිටිවල අඩංගු ප්‍රෝටීන් ප්‍රමාණය ඉහළ දමනවා කියන මුළාවට පාරිභෝගිකයා හසු කරමින්, කිරිපිටිවල අඩංගු නයිට්‍රජන් ප්‍රමාණය ඉහළ දැමීමක් මේ රසායනයෙන් සිද්ධ කරනවා. ඒකෙ භයානකම පැතිකඩ තමයි මේ මෙලමයින් ප්‍රධාන වශයෙන්ම ළදරු ආහාර, ළදරු කිරිපිටිවලට මිශ්‍ර කිරීම.

ශරීරයේ තිබිය යුතු උපරිම මෙලමයින් ප්‍රමාණය 1 mg / kg වුණත්, ඔවුන් මේ සඳහා 2.5 mg / kg හෝ ඊට වැඩි ප්‍රමාණයක් ළදරු ආහාර සහ කිරිපිටි සඳහා යොදා ගන්නවා. එතකොට ප්‍රෝටීන් ප්‍රතිශතය ඉහළ දමනවා කියල පාරිභෝගිකයා මුළාවට පත් කරමින් නයිට්‍රජන් ප්‍රමාණය ඉහළ දාල පාරිභෝගිකයා රැවටීමක් තමයි කරන්නෙ.

විශේෂයෙන් සමහර රටවල්වලින් ආනයනය කරන ළදරු ආහාර ඇතුළු අනෙකුත් කිරිපිටි වර්ගවලත්, සත්ත්ව ආහාරවලත් මේවා බහුලව අඩංගුයි. මේකෙ අඳුරු පැතිකඩ තමයි මේ රසායනයේ අඩංගු Amatide, Ammaline සහ Cyanuric Acid නිසා වකුගඩු ගල් ඇති කිරීමට හේතු වීම. බොහෝ කොට අද ඉන්න දරුවන්ගෙ මුත්‍රාවල විසබීජයන් පැවතීම නිතර අහන්න ලැබෙන කාරණයක්. මේ කාරණයත් ඒ සඳහා යම් ප්‍රමාණයකට හේතු වෙන්න පුළුවන්. ඊට අමතරව දරුවන්ට දීර්ඝ කාලීනව මුත්‍රා පද්ධතිය ආශ්‍රිත රෝග ඇති වෙන්නත්, අවසානයෙදි වකුගඩු රෝග බහුල සමාජයක් ඇති වෙන්නත් මේ තත්ත්වය හේතු වෙන්න පුළුවන්.

මේ සම්බන්ධයෙන් ආන්දෝලනයක් පසුගිය කාල වකවානුවේ වෛද්‍යවරුන් විසින් ගෙන ගිය බවක් මාධ්‍යවලින් ජනතාවට අහන්න ලැබුණත්, යම් යම් බලවතුන්ගෙ අදිසි හස්තයන් නිසා ඔවුන්ට මේ වගේ ආහාර ආනයනයෙන් සාක්කුවට වැටෙන ප්‍රතිලාභ නැතිවී යාම හේතු කොටගෙන ඒ කාරණය යට ගිය බවක් දකින්න තියෙනවා. ඒ කාරණය එහෙම වුණත්, දෙමව්පියන් විදිහට ඥානාන්විතව දරුවන්ව දේශීය අල, බතල, පළතුරු, ධාන්‍ය වර්ග, පලා වර්ගවලට හුරු කරල ☞

මව් කිරිවලට ප්‍රමුඛස්ථානය දෙමින් ඔවුන් නිරෝගිමත් කිරීම තමයි යුතුකම වෙන්නෙ. ඒ වගේම ඒ කාරණයේ භයානක පැතිකඩ පෙන්වාදීම අපේ යුතුකම. ඒ නිසා විශේෂයෙන් දරුවන්ට හැකි පමණින්, සකස් කරපු ආහාර නොදී තමන්ගෙ ගෙවත්තෙන් හෝ හැකියාවක් තියේ නම් කාබනිකව වගා කළ ආහාර වර්ග සහ දේශීය දේ පරිභෝජනයට ලබා දීල ඔවුන් අනාගතයෙදි රෝගීන් නොවීමට වග බලා ගැනීම දෙමව්පියන්ගෙ යුතුකමක්. ඔවුන් දැනුවත් වෙනකල් රැකීම දෙමව්පියන් විසින් කළ යුතු උතුම් කාර්යක්. ඒ හේතුවෙන් අනාගත සෞඛ්‍ය වියදම් පවා ඉතිරි කර ගන්න පුළුවන්.

ස්වභාවිකව ගන්න ආහාරවලට අමතරව, ආහාර සකස් කිරීමෙදි භාවිතා කරන යම් යම් සංයෝගයන් නිසා ශරීරයට අහිතකර රසායනිකයන් තැන්පත්වීමත් මේ කාලයේ බොහෝ කොටම දකින්න තියෙන දෙයක්. ඒවත් බහුලව තියෙන්නෙ සකස් කරපු ආහාරවල, කල් තබා ගන්නා ආහාරවල. රසයට තියෙන දැඩි ලොල් බව නිසා, ගුණයන් ගැන නොතකා රසය පසුපසම හඹා යෑමේ රැල්ලට තමයි නව සමාජය යොමු වෙලා තියෙන්නෙ. ඒ තත්ත්වයෙන් මුදවා ගැනීම ලේසි පහසු කාර්යක් නොවුණත්, උගත් බුද්ධිමත් කියන සම්මත පිරිසවත් දැනුවත් කරන්න පුළුවන් වෙයි කියන අරමුණින් තමයි මේ කරුණු ඉදිරිපත් කරන්නෙ.

අදටත් ගම් පළාත්වල ජීවත් වන අපේ සමහර වැඩිහිටියන් නවීන ආහාර ප්‍රතික්ෂේප කරනවා. ඔවුන් ආහාර තෝරා බේරාගෙන පරිභෝජනය කරනවා. ඔවුන් තමන්ගෙ පරමායුස භුක්ති විඳිමින් රෝගීන් නොවී නිරෝගීව ජීවිතය ගත කරල සමු ගැනීම අදටත් අහන්න තියෙන කාරණයක්. හැබැයි නවීන ලෝකයට හුරු වෙච්ච අය මේ ගැන කියන්නෙ, තියෙන දෙයක් කාල ඉන්නෙ නැතුව ආහාර තෝරනව කියල. නමුත් ඔවුන්ට නොතේරෙන්නෙ මොකක්ද කියන කාරණය හොයල බලන්න ඕන. ඔවුන් සොයන්නෙ දිවට වහල් වෙච්ච රසයද, නැත්නම් ශරීරයට අවශ්‍ය ගුණයද ?

### 2) N - නයිට්‍රෝසෝඇමින් (N - Nitrosamine)

විශේෂයෙන් මස්, මාළු වර්ග වගේ සත්ත්ව ආහාර කල් කිරීම (Curing) කියන සැකසුම් ක්‍රමයෙදි ඒවා කල් තබා ගැනීම සඳහා නොයෙකුත් රසායනික භාවිතා කරනවා. ඒ අතර ප්‍රධාන වශයෙන් භාවිතා වෙන්නෙ නයිට්‍රයිට් ($NO_2$) කියන රසායනය. ඒක ප්‍රධාන වශයෙන්ම යොදා ගන්නෙ මස් මාංශවල ජීවත් වන අහිතකර බැක්ටීරියාවක් වන ක්ලොස්ට්‍රිඩියම් බොටිලිනම් (Chlostridium Botilinum) විනාශ කිරීම සඳහා. නමුත් බැක්ටීරියාව විනාශ වුණත්, ආහාර කල් තබා ගැනීමට යොදන ලුණු සහ කුළු බඩු සමග මේ $NO_2$ ප්‍රතික්‍රියා කිරීමෙන් N - නයිට්‍රෝසෝඇමින් වර්ග බොහෝ කොටම නිපදවනවා. විශේෂයෙන් ඒවායින් නිපදවන අධික විස සහිත ද්‍රව්‍යයන් කිහිපයක් තමයි මේ.

N - නයිට්‍රෝසෝඩයිමීතයිල් ඇමීන් (N - Nitrosodimethyl amine)
N - නයිට්‍රොසෝඩයිඊතයිල් ඇමීන් (N - Nitrosodiethyl amine)
N - නයිට්‍රොසෝඩයිප්‍රොපයිල් ඇමීන් (N - Nitrosodipropyl amine)




N - නයිට්‍රොසෝඩයිබියුටයිල් ඇමීන් (N - Nitrosodibutyl amine)
N - නයිට්‍රොසෝ පිපෙරිඩීන් (N - Nitrosopoperidine)
N - නයිට්‍රොසෝ පයිරොලිඩින් (N - Nitrosopyrrolidine)
N - නයිට්‍රොසෝ මෝෆොලින් (N - Nitrosomopholin)

ශ්‍රී ලංකාවේ ආහාර නිෂ්පාදනය කරන කර්මාන්ත ශාලාවල සේවය කරන සාමාන්‍ය සේවකයින් බොහෝ කොටම අඩු අධ්‍යාපන මට්ටමක් ඇති අය නිසා, මේ සඳහා යොදා ගන්න අනුමත කරල තියෙන ප්‍රමාණයන්ට වඩා, ඔවුන් අතට අහුවෙන ප්‍රමාණයන් එකතු කරන්න පෙළඹිලා තියෙනවා. ඒ හේතුවෙන් ඉහතින් සඳහන් කළ අධික විස සහිත නයිට්‍රොසෝ වර්ග විවිධ මට්ටම්වලින් නිපදවීම සිද්ධ වෙනවා. ඒ නිසා නිෂ්පාදිත පාරිභෝගික භාණ්ඩවල තියෙන මේ විස ප්‍රතිශතයන් ඉහළ මට්ටම්වලින් පවතිනවා. ඒ වගේම විශේෂයෙන් දුම්පානයේදී නිපදවෙන නයිට්‍රොසෝ විශේෂයක් මගින් පෙණහළු පිළිකා ඇති කරන බවත් සොයාගෙන තියෙනවා.

මේ කාරණයේ තියෙන අඳුරු පැතිකඩ විදිහට, දැනටමත් පර්යේෂණ මට්ටමින් මීයන් යොදා ගෙන කරපු පර්යේෂණවලදි ශරීරයේ බොහෝ අවයවවල සහ අභ්‍යන්තර ඉන්ද්‍රියන්ගේ පිළිකා ඇති වෙලා තියෙන බව සොයාගෙන තියෙනවා. ඒ අතර අක්මාව සහ පෙණහළු පිළිකා ප්‍රධාන තැනක් ගන්න බවත් තවදුරටත් සොයාගෙන තියෙනවා.

මේවායින් බේරෙන්න නම්, කෘත්‍රිම රසායන යොදල කල් තබා ගන්නා ආහාර භාවිතයෙන් හැකි තරම් වැළකිලා ස්වභාවිකව එදිනෙදා ලබා ගන්න ආහාර භාවිතයට ගැනීම වැදගත්. අද වෙනකොට සමාජය තරඟකාරී වීම හේතුවෙන් ක්ෂණික ආහාර සඳහා පෙළඹීමෙන් හුඟ දෙනෙක් නොදැනුවත්වම රෝගීන් බවට පත්වෙලා තියෙනවා.

### 3) ඇක්‍රිලමයිඩ් (Acrylamide)

මේ බහු අවයවිකය භාවිතා කරන්නෙ ඩයි වර්ග, කඩදාසි, ප්ලාස්ටික් සහ නොයෙකුත් ප්‍රතිකාර කරන්න යොදාගන්න උපකරණ සෑදීම සඳහා. ඇක්‍රිලමයිඩ් ප්‍රධාන වශයෙන් උත්පාදනය වෙන්නෙ අඩු ප්‍රෝටීන් සහිත අධික පිෂ්ටමය ආහාර, උෂ්ණත්වය 120ºc ට වඩා ඉහළ උෂ්ණත්වයකට රත් කරනකොට. විශේෂයෙන් පිෂ්ටය බහුල, ඒ වගේම අඩු ප්‍රෝටීන් ප්‍රමාණයක් අඩංගු අල පෙති (Potato Chips), French Friesවල වගේම බොහෝ බේකරි නිෂ්පාදනවලත් මේ විස සංයෝගය බහුලව උත්පාදනය වෙලා තැන්පත් වෙනවා.

ඒ වගේම ස්වභාවිකව එළවළු වර්ගවල ඇස්පැරජින් (Asparagine) කියන ඇමයිනෝ අම්ලය අඩංගු වෙනවා. අර්තාපල් අලවලත් මේ ඇමයිනෝ අම්ලය අඩංගු වෙනවා. ඒ නිසා මේ වගේ ආහාර වර්ග ඉහළ උෂ්ණත්වවලදි සකස් නොකර අඩු උෂ්ණත්වවලදි




(120ºC ට අඩු) පිස ගැනීමෙන්, මේ විස ශරීරගත වීම වළක්ව ගන්න පුළුවන්. මේ සම්බන්ධයෙන් මීයන් යොදා ගෙන කළ පර්යේෂණයකදි හෙළි වෙලා තියෙන්නෙ මුඛ කුහරය, අන්නස්‍රෝතය, අපිජිහ්විකාව, මහ බඩවැල සහ වකුග ඩු ආශ්‍රිත පිළිකා ඇති වෙන්න හේතු වෙන බව.

විශේෂයෙන් මේ කාලය වෙන කොට ඉතා අධික උෂ්ණත්වයන් යටතේ බදින ආහාර අතර අල පෙති, මුරුක්කු වර්ග සහ පිටිවලින් හදා ගන්න බැදුම් වර්ග වෙළඳපොළේ බහුලව තියෙනවා. ළදරුවන් මේවාට වැඩි කැමැත්තක් දක්වන නිසා ඔවුන් දැනුවත් කරල ඒවායින් මුදවා ගැනීම වැඩිහිටි දෙමාපියන්ගෙ යුතුකමක්. එදිනෙදා ගෙදරදොරේ හදා ගන්න ස්වභාවික ආහාරපාන භාවිතයෙන් විශේෂයෙන් මේ තත්ත්වය වළක්ව ගන්න පුළුවන්.

4). **පොලිසයික්ලික් ඇරෝමැටික් හයිඩ්‍රොකාබන් (Polycyclic Aromatic Hydrocarbon) - PAHS**

සම්පූර්ණ වශයෙන් නොදැවුණු කාබනික ද්‍රව්‍යයන් හෙවත් අර්ධ ලෙස දහනය වූ කාබනික ද්‍රව්‍යයන්ගෙන් (උදා :- තෙල් වර්ග, දැව, අපද්‍රව්‍ය, ගල්අඟුරු) මේවා පරිසරයට මුදා හරිනවා. මේ වායු වර්ග එළවළු, පළතුරු, ධාන්‍ය වර්ග, සත්ත්ව නිෂ්පාදන (මස්, මාළු, කිරි, බිත්තර) සමග ගැටීමෙන් ඒවාට අවශෝෂණය වෙනවා. ඒ වගේම පසට උරා ගැනීමත්, ජලයට මිශ්‍ර වීමත්, වායුගෝලයට මිශ්‍ර වීමත් සිද්ධ වෙනවා. ඊට අමතරව දුම් ගැසීම, රෝස්ට් කිරීම, බේක් කිරීම, ඉතා තද උෂ්ණත්ව-යන්ගෙන් වියළීම, කර කිරීම සහ ආහාර ඇසුරුම් ද්‍රව්‍ය මගිනුත් මේවා පරිසරයට නිදහස් වෙන අතරම ආහාරවලත් තැන්පත් වෙනවා.

කුකුල් මස් ඇතුළු සියලු මස් වර්ග, මාළු වර්ග අද වෙනකොට ඉහත ක්‍රමවලින් පිස ගැනීම බහුලව සිද්ධ වෙනවා. නමුත් පැරැන්නන් ආහාර පිසින කොට මේ ක්‍රමවේද භාවිතා කළේ නෑ. මේ මුක්ත වන PAHS වර්ග සත්ත්ව හා ශාක මේද ස්ථරවල ඉක්මනින් තැන්පත් වෙනවා. ඒකට හේතුව PAHS ඉතා ඉක්මනින් මේදයේ දිය වීම නිසා.

මේ ශාක හා සත්ත්ව මේදමය කොටස් ආහාරයට ගැනීමෙන් මේ කියන විස ශරීරගත වෙන්න පුළුවන්. නාගරික පරිසරවල ආහාරපානවල මේවා බහුලව



අඩංගුයි. ඒකට හේතුව වාහනවල තෙල් දහනයෙන් පිටවන වායු වර්ගවල මේවා අධික ලෙස අඩංගු වීම. ඒ වගේම පිටරටින් ආනයනය කරන ටින් මාළු වර්ගවලත් මේ විස අධිකව අඩංගුයි. ඒවා දීර්ඝ කාලීනව ශරීරගත වීමෙන් ස්වසන රෝග, බඩවැල ආශ්‍රිත රෝග (පිළිකා), අක්මා රෝග බහුල වෙන්න පුළුවන්. ගෙදර හදා ගන්න ආහාර පරිභෝජනයට යොමුවීමෙන් ඉහත සඳහන් බොහෝ රෝගවලින් මිදෙන්න පුළුවන්.

5) **ලෝහ වර්ග ශරීරගත වන ආකාරයන්**

ටින් ආහාර පරිභෝජනයෙදි ටින් සෑදීම සඳහා ටින් (Sn), ක්‍රෝමියම් (Cr), කැඩ්මියම් (Cd) සහ ඊයම් (pd) කියන ලෝහ වර්ග යොදා ගන්නවා. විශේෂයෙන් ටින් මාළු තුළ අම්ල ප්‍රමාණයන් ඉතා ඉහළයි. මේ අම්ල, ආහාරයේ තියෙන නයිට්‍රේට්, ඔක්සිජන්, සල්ෆර් සහ ඇමයිනෝ අම්ල සමගත් ඉහතින් සඳහන් කළ ලෝහ සමගත් ඉතා පහසුවෙන් ප්‍රතික්‍රියා කරල නිපදවන අහිතකර විස වර්ගයන් ඉතා බහුලයි. මේවා ශරීරයේ බොහෝ අවයව අක්‍රීය කරන්න, ස්නායු දුර්වල කරන්න හේතු වෙනවා. ප්‍රධාන වශයෙන් අක්මාව, වකුගඩු, අග්න්‍යාශය, අස්ථි හා ඇට මිදුළු වගේ කොටස් ඊට ගොදුරු වෙනවා.

ඔබටම අත් දකින්න පුළුවන් කාරණයක් තමයි, ටින් මාළුවල ඇතුළත අස්ථි කොටස් සියල්ල වියෝජනය වෙලා තියෙන බව. ඒ නිසා ඔබම තීරණය කරන්න, මේ ආහාර අනුභවයෙන් ඔබේ අස්ථිවලටත් මොකක් වෙයිද කියල.

6) **මයික්‍රොවේව් ප්ලාස්ටික් (Microwave Plastic)**

මේ ප්ලාස්ටික් ඉතා කෙටි කාලයකදි ඉතා අධික තාපයක් උත්පාදනය කරන නිසා ක්ෂුද්‍ර තරංග උදුන් (මයික්‍රොවේව් අවන්) තුළට ආහාර පිස ගැනීමට දැමීමෙදි, අධික තෙල් සහිත ආහාර ප්ලාස්ටික් භාජනවල දමා පිස නොගත යුතුයි. මොකද අධික උෂ්ණත්වවලදි ප්ලාස්ටික් වියෝජනය වෙලා තෙල් සමග දියවීම ක්ෂණිකව සිද්ධ වෙන ක්‍රියාවලියක්. ඒ නිසා ක්ෂුද්‍ර තරංග උදුන් තුළ ආහාර පිස ගැනීමෙදි තාපයට හොඳින් ඔරොත්තු දෙන භාජන පාවිච්චි කරන්න ඕන. එතකොට ප්ලාස්ටික් වියෝජනයෙන් ආහාරවලට එකතු වන ප්ලාස්ටික් ප්‍රමාණය නවත්වන්න පුළුවන්. එයින් බඩවැල් ආශ්‍රිත බොහෝ රෝග වළක්වා ගන්න පුළුවන්.

7) **ඩිඔක්සින් (Dioxin)**

මේ විස වායුව ප්‍රධාන වශයෙන් පරිසරයට මුදා හරින්නෙ පොලිතින්



සහ ප්ලාස්ටික් දහනයෙන්. මේ වායුව තුළ පරිසරයට හානි කර සංයෝග 17 ක් අඩංගුයි. ඒ අතර 2, 3, 7, 8 ටෙට්‍රා ක්ලෝරෝ ඩයිබෙන්සො - පී - ඩිඔක්සින් (2, 3, 7, 8 Tetro Chlorodibenso - P - dioxin) කියන සංයෝග ඉතා විස සහිතයි. මේවා ආඝ්‍රහණය කිරීමෙන් මුඛය, පෙණහළු ආශ්‍රිත පිළිකා රෝග, චර්ම රෝග, බඩවැල් ආශ්‍රිත ආසාදන ඇතිවෙන්න හේතු වෙනවා.

මේ තත්ත්වයෙන්

ගැලවෙන්න නම් හැම විටම හැකි පමණ ස්වභාවිකව රෙදි වර්ගවලින් හෝ ශාඛ ද්‍රව්‍යවලින් හදා ගත් අසුරන, මළු වර්ග භාවිතයට හුරු වෙන්න ඕන. තම තමන්ගෙ ගෙවල්වල ගොඩ ගැහෙන පොලිතින් සහ ප්ලාස්ටික් ප්‍රමාණය අවම කර ගන්නත්, ඒවා දහනය නොකරන්නත්, වගබලා ගන්න ඕන. ඒ වගේම දනට වෙළඳපොළේ පවතින වියෝජනය වන අසුරන, මළු වර්ග භාවිතයට හුරු වෙන්න ඕන.

### 8) රබර් සහ ප්ලාස්ටික්

විශේෂයෙන් කුඩා දරුවන්ට ගෙනත් දෙන සෙල්ලම් බඩු ගැන අවධානය යොමු කළ යුතුයි. ප්ලාස්ටික් සහ රබර්වලින් නිෂ්පාදිත ආකෘති (ඩමි) ගෙනත් දීමෙන් ඒවා ස්වසන මාර්ගය දිගේ ආස්‍රහණයෙන් පෙණහළු ආශ්‍රිත රෝග හැදෙන්න පුළුවන්. සමහර අවස්ථාවලදි ඒවා හැපීමෙන් කැබලි ශරීරගතවීම පවා සිද්ධ වෙන්න පුළුවන්. ඒකෙ භයානක පැතිකඩ තමයි ස්වසන පද්ධතියේ පෙණහළුවල සහ ආහාර මාර්ගයේ මේ ද්‍රව්‍ය ඇලී සිටීම නිසා ඒ ඉන්ද්‍රියන්ගේ අවහිරතා වගේම ආසාධන තත්ත්වයන් ඇති වීම. ඒ නිසා දෙමව්පියන් දරුවන්ට තියෙන ලෙන්ගතුකම නිසා ගෙනත් දෙන බොහෝ දේ ගැන දෙවතාවක් සිතීම වැදගත්.

ඉහතින් සඳහන් කළ දේවල්වලට අමතරව මෑත කාලයෙදි අහන්න ලැබෙන දෙයක් තමයි, කරවල වර්ග හදනකොට වේලීම සඳහා, මිනී පුච්චන විදුලි උඳුන් භාවිතයට ගැනීම. මේක ඉතාමත්ම භයානක පැතිකඩක්. මනුස්ස ශරීරයක් පුච්චනකොට දුමක්වත් නොගැටෙන විදිහට අපිව ඈත් කරල තියන්න අපේ වැඩිහිටියන් වග බලා ගත්තා. අද වෙනකොට විදුලියෙන් ක්‍රියාත්මක වන උඳුන් තුළ මෘත ශරීර පුච්චා දැමීම ප්‍රකටව සිද්ධ වෙනවා. ඒවායින් එන වායුන් පහළ ප්‍රදේශවලට එකතු වෙන්න නොදී ඉහළ වායුගෝලයට මුක්ත කිරීම එක අතකට හොඳයි. නමුත් මේ උඳුන් තුළ තෙත මාළු වියළීම මගින් ඒ ආශ්‍රිත විවිධාකාර විස රසායනයන් මිශ්‍ර වෙනවා. මොකද යම් යම් රෝගී තත්ත්වයන් නිසා මරණයට පත් වෙච්ච අයත් මේ උඳුන්වල පුච්චනවා. ඒ නැතත් මළ සිරුරක් දැවීමෙන් හට ගන්නෙ ඉතා විස වායු වර්ග.

එදා වැලිත් එක්ක ඉර එළියේ තමයි කරවල වේලුවෙ. නමුත් අද වෙනකොට ඉතා ලස්සන, වැලි නැති දීප්තිමත් කරවල වෙළඳපොළේ බහුලයි. මේ හේතූන් නිසා ඒවා මිලදී ගැනීමෙදි දෙවරක් සිතා බැලිය යුතුයි.

මේ කරුණු කාරණාවලින් අවසානයේ පෙනී යන්නෙ, ඉතා ඈත අතීතයේ ජීවත් වෙච්ච අපේ මුතුන් මිත්තන්ගෙ ආහාර රටාව කොච්චර සාර්ථකද කියන කාරණය. නවීන ක්‍රමවේදයන්ට නැඹුරු වීමෙන් අපේ ආර්ථික පරිහානියත්, අධ්‍යාත්මිකව ඉහළට යන්න තියෙන අවස්ථාව අහිමි වීමත් තමයි සිද්ධ වුණේ. ඒ නිසා එදා පැරැන්නන් ස්වභාවික එළවළු, පළතුරුවලින් හදා ගත් ගෙවත්ත නැවත ගෙන ආ යුතු කාලය එළඹිලා තියෙනවා.

(ඉතිරි කොටස ලබන කලාපයෙන්)

සටහන
**දමයන්ති විජේකුමාරි** BSc, MSc, M.Phil
**පෝෂණවේදී, බාහිර කථිකාචාර්ය**
**කුලියාපිටිය කාර්මික විද්‍යාලය,**
**0777-194794**

# සමාධිමය අත් බෙහෙත්...

වහරක අභයරතනාලංකාර හිමියන් ගිහි වතක සිටියදී සිදු කළ සමාධිමය ප්‍රතිකාර ක්‍රමවේදයන්ගෙන් ප්‍රතිකාර ලබා ගැනීමට පැමිණි රෝගීන් සඳහා බෙහෙත් සමාධියෙන් මතු කර ගත් තවත් අත් දුටු බෙහෙත් කිහිපයක් තමයි මේ හඳුන්වා දෙන්න යන්නෙ.

## පිත් විසෙන් හටගත් ලේ, සෙම් දෝස සඳහා

පිත් විසෙන් හටගත් පපුවේ ලේ, සෙම නරක් වීම කියන රෝගී තත්වයත් අද වෙනකොට සුලභව දකින්න තියෙන දෙයක්. කර්ම විපාකත් මුල් කරගෙන විසම ආහාර පරිභෝජනය, විසම ජීවන රටාව, බාහිර පරිසරයේ අසමතුලිතතාවය වගේ දේවල් නිසා මේ වගේ තත්වයන් ඇති වෙන්න පුළුවන්. මේ වගේ අවස්ථාවකදි කිසිදු අතුරු ආබාධයක් නැතිව, වැඩි වියදමක්, මහන්සියක් නැතිව හදාග න්න පුළුවන් අත් බෙහෙතක් තමයි මේ.

මේ සඳහා අවශ්‍ය කරන්නෙ පොල් මුල්, හීන් නෙරෙංචි, කටු වැල් බටු, බෙහෙත් කහඹිලියා මුල්, පාවට්ට මුල්, කෝමාරිකා කියන අමුද්‍රව්‍ය. මේ බෙත් අමුද්‍රව්‍යවලින් කලං 2 බැගින් අරගෙන වතුර පත 8 - 1 ට හිඳගෙන (අඩු කෝප්ප 8 ක් දම්මොත් කෝප්ප 1 කට හිඳගෙන) උදේට දුඹුරු සිනී හෝ මී පැණිත්, හවසට සහිඳ ලුනුත් දමා බොන්න ගන්න. මේ විදිහට දවස් 8 ක් හිඳගෙන වඩිය දෙවේල බැගින් පාවිච්චි කිරීමෙන් ඉහත රෝගී තත්වයන් දුරු වෙනවා. මෙතනදි වඩියක් කියන්නෙ අඩු කෝප්ප 1 ක්. වඩිය දෙවේල බැගින් කිව්වම, අඩු කෝප්ප 1 ක් දෙකට බෙදල භාගය බැගින් උදේ හවස ගන්න ඕන.


පොල් මුල්


හීන් නෙරෙංචි


කටුවැල්බටු


බෙහෙත් කහඹිලියා මුල්


පාවට්ට මුල්


කෝමාරිකා

## මුත්‍රා සමග ලේ පිටවීම සඳහා

මුත්‍රා ගල් නිසා හෝ මුත්‍රා මාර්ගය ආශ්‍රිත විවිධ ආසාදන නිසා හෝ මුත්‍රා සමග ලේ පිටවෙන අවස්ථා තියෙනවා. ඒ වගේ අවස්ථාවකදි කොරස වැල් වතුර පත 2 ක් තුන් වරුවට බොන්න දීමෙන් ඒ තත්ත්වය දුරු වෙනවා. ඒ කියන්නෙ වතුර පත 2 ක් තුනට බෙදල උදේ, දවල්, හවස බොන්න ගන්න ඕන. කොරස වැල් කියන්නෙ බූව වගේ රළු කොළ තියෙන, ඉස්සර ගල් ලෑලි මකන්නත් ගත්ත වැල් ජාතියක්. ඒවා උඩින් යටින් කැපුවම වතුර වැක් කෙරෙනවා. ඒකට පිටින් වතුර එකතු කරන්නෙ නෑ. ඒ වැලේ ඕන තරම් වතුර තියෙනවා.


කොරස වැල්

සටහන
**නීතිඥ චන්දන සිරිවර්ධන**

# හෙළ බොදු පියුම දහම් සඟරාවේ 61 වන කලාපය සඳහා ශ්‍රමය හා මූල්‍යමය දායකත්වය සැපයූ පිංවතුන්

## ශ්‍රම දායකත්වය

■ ධම්මික සේනාධීර මහතා - නෙක්මෝ කම්පියුටර්ස් ආයතනය - මාලබේ ■ අසංග මංජුල කුමාර මහතා - හෝමාගම ■ චන්දන සිරිවර්ධන මහතා - අලපලාදෙනිය ■ චතුර හිඳුරංගලගේ මහතා - නුගේගොඩ ■ අමිත් සමරනායක මහතා - බෙල්ලන්තර ■ ගයාන් ගුණරත්න මහතා - ගොතටුව ■ ෆික්රි ඉස්මයිල් මහතා - ගොතටුව ■ ඒ. එම්. ධනරත්න අල්විස් මහතා - පැපිලියාන ■ දමයන්ති විජේකුමාරි මහත්මිය - කටාන ■ දර්ශන පෙරේරා මහතා - පිළියන්දල ■ නිවන්ති වීරතුංග මහත්මිය - මාතලේ ■ සුජීවනී ජයවර්ධන මෙනෙවිය - පාදුක්ක ■ ඩී.සී.ආර්. ඇක්සස් මුද්‍රණාලයේ අධිපතිතුමා ඇතුළු කාර්ය මණ්ඩලය පිටකෝට්ටේ ■ ඉමාෂි මුද්‍රණාලයේ අධිපතිතුමා ඇතුළු කාර්ය මණ්ඩලය ■ නන් අයුරින් දායක වූ පින්වතුන්

## මූල්‍යමය දායකත්වය

■ ආසිරි වනිගරත්න මහතා සහ දීපිකා සන්දනායක මහත්මිය ඇතුළු පවුලේ සැම - මහරගම - රු. 25,000/- ■ චතුර හිඳුරංගලගේ මහතා, නදීරා අරම්පොල මහත්මිය, තනුරි හිඳුරංගලගේ සහ සනුරි හිඳුරංගලගේ දියණියන් - නුගේගොඩ - රු.10,000/- ■ සමන් සිල්වා මහතා - කළුතර - රු. 10,000/- ■ තුසිත නාකන්දල මහතා, සරූපා නාකන්දල මහත්මිය, දෙව්න්යා දුව - ගල්කිස්ස- රු. 10,000/-■ උදිත බණ්ඩාර මහතා සහ නදීකා පියදාස මහත්මිය - පාදුක්ක - රු. 10,000/- ■ අමිල සල්ගාදු මහතා, ජයන්ත සල්ගාදු මහතා සහ කාන්ති ඒකනායක මහත්මිය - බෝමිරිය - රු. 8,000/- ■ අමිත් හඳුගොඩ මහතා ඇතුළු පවුලේ සැම - අත්තිඩිය - රු. 5,000/- ■ ගයාන් පුෂ්පික ඉන්ද්‍රජිත් ලොකුමාන්න මහතා, හිරෝෂානි ලොකුමාන්න මහත්මිය, සෙනුත් ලොකුමාන්න පුතා - ගල්කිස්ස - රු.5,000/- ■ සොනාලි සමරදිවාකර මෙනවිය - මහරගම - රු.5,000/- ■ වෛද්‍ය තාරක රත්නායක මහතා සහ ලසන්ති රත්නායක මහත්මිය - නුගේගොඩ - රු. 5,000/- ■ පද්මිණී හේමලතා අබේසිරිගුණවර්ධන මහත්මිය - රු. 5,000/- ■ නදීරා ගලගෙදර මෙනවිය - කොට්ටාව - රු. 5,000/- ■ කරගම්පිටිය ශාස්ත්‍රානන්ද පිරිවෙන් විහාරස්ථානයේ සදහම් වැඩසටහනට සහභාගි වන පින්වතුන් - රු. 3,000/- ■ ජනක හපුආරච්චි මහතා ඇතුළු පවුලේ සැම - ගිනිගත්හේන - රු. 3,000/- ■ කේ.එම්. සමන්ත ප්‍රදීප් මහතා - කඹුරුගමුව, මාතර - රු. 3,000/- ■ කේ. පී. ගුණදාස මහතා - ගලපිටමඩ - රු. 3,000/- ■ මෙරිල් ඩයස් මහතා, ඩිලානි ඩයස් මහත්මිය සහ ශවින්ද්‍රි ඩයස්, ප්‍රශානි ඩයස් දියණියන් - නාවින්න රු. 3,000/- ■ ටී.ටී.පී. සිල්වා මහත්මිය - නාගොඩ කළුතර - රු.2,500/- ■ ඩී. ඩී. විතාරණ මහතා ඇතුළු පවුලේ සැම - නුගේගොඩ - රු. 2,500/- ■ ඩබ්. කේ. නලිනසේකර මහතා සහ ඩබ්. ප්‍රේමවතී මහත්මිය - වලල්ලාවිට - රු. 2,500/- ■ විපුල සංජීව මහතා ඇතුළු පවුලේ සැම - හෝමාගම - රු.2,500/- ■ ජේ.කේ. සිසිර කුමාර සමරදිවාකර මහතා ඇතුළු පිරිස - එල්ලක්කල - රු. 2,120/- ■ ගුණපාල ඉද්දගොඩ මහතා - විජේරාම - රු. 2,000/- ■ ඔස්ටින් ප්‍රනාන්දු මහතා සහ සිසිර සිරිවර්ධන මහතා ඇතුළු පවුලේ සැම - පොල්ගහවෙල - රු. 2,000/- ■ සංජය රණවීර මහතා - මහරගම - රු.2,000/- ■ නුවන් යාපා අමරසේකර මහතා සහ චරිතා කුමාරි හෙට්ටිආරච්චි මහත්මිය - රදාවාන - රු.2,000/- ■ කේ. රත්නා චාන්දනී මහත්මිය ඇතුළු පවුලේ සැම - ඉතාලිය - රු.2,000/- ■ එස්.ආර්.ඩී. සෙනෙවිරත්න මහතා - ගිරිඋල්ල - රු.2,000/- ■ මංගලිකා බුද්ධිමතී කාරියවසම් මහත්මිය රු.2,000/- ■ ජයකොඩි පවුලේ සැම - පිලිමිනාවත්ත දොඩම්ගොඩ රු.2,000/- ■ ජේ.එල්. වීරමන් මහතා - කලල්ගොඩ රු.2,000/- ■ ඉසුරු ගාල්ලගේ මහතා සහ මේනකා ශාන්තිනී මහත්මිය ඇතුළු පවුලේ සැම - කඩවත රු.2,000/- ■ දීප්ති, චන්දන, සචින්ත, තරිශ්කද අල්විස් යන මහත්ම මහත්මීන් - වැල්ලවත්ත රු. 1,700/- ■ අයිරාංගනී තිලකරත්න මහත්මිය - නාවල - රු. 1,500/- ■ පී. රුවිනා දීපානි මහත්මිය ඇතුළු පවුලේ සැම - පිටකෝට්ටේ - රු. 1,500/- ■ තිලානි ද සිල්වා මහත්මිය සහ හේමාල් ද සිල්වා මහතා - මොරටුව - රු.1,500/- ■ එච්.ඒ නීල් වීරසිංහ මහතා - කළුගමුව රු.1,120/-
■ එම්. සේනානායක මහත්මිය සහ ලිහාරා තමෝදනී ගජසිංහ දියණිය - ජාඇල - රු. 1,100/= ■ ශ්‍යාමල් බණ්ඩාර මහතා - කුරුණෑගල - රු. 1,000/- ■ එරංග ලියනගේ මහතා සහ බිසන්තිකා ගුණසේකර මහත්මිය - කළුබෝවිල - රු.1,000/- ■ ජයනාත් සුබසිංහ මහතා - හෝමාගම - රු.1,000/-■ කේ.එම්.කේ. උදිත ලක්ෂාන් පෙරේරා මහතා - මීනුවන්ගොඩ - රු 1,000/- ■ ක්‍රිෂාන්ත ප්‍රියමධු මහතා - කළුබෝවිල - රු.1,000/- ■ නිහාල් ලියනගේ මහතා සහ චිත්‍රා ෆ්‍රේරු මහත්මිය - කළුබෝවිල - රු. 1,000/-■ ගාමිණී ලියනගේ මහතා සහ නයෝමි තරංගා ලියනගේ මෙනවිය - නැදිමාල - රු.1,000/-■ අමිත් සමරනායක මහතා - බෙල්ලන්තර - රු. 1,000/- ■ එස්. ප්‍රසන්න ප්‍රියදර්ශන සිල්වා මහතා - ගල්කිස්ස - රු. 1,000/- ■ සී.එම්.පී.සී. ලක්රුවන් මහතා - කළුතර - රු. 1,000/- ■ සිරිමල් වේරගම මහතා - යොවුන්ගම - රු.1,000/- ■ ඒ. විල්සන් පෙරේරා සහ එම්. කල්‍යාණි පෙරේරා යන දෙපළට පිං පිණිස ජයරාණි තිරංජලා අමරතුංග මහත්මිය - තලපත්පිටිය - - රු. 1,000/- ■ ජී.ඩී.ඩබ්. සෝමරත්න මහතා - පයාගල - රු. 1,000/- ■ සෝමා වික්‍රමසිංහ මහත්මිය - යක්කල - රු.1,000/- ■ සමන්ති රාජපක්ෂ මහත්මිය - ඇඹුල්දෙනිය - රු. 1,000/- ■ රේණුකා ගුණරත්න මහත්මිය ඇතුළු පවුලේ සැම - ගොතටුව - රු. 1,000/- ■ ඒ.ඒ.එන්. අමරසිංහ මහතා ඇතුළු පවුලේ සැම - අවුලේගම - රු. 1,000/- ■ කේ. ඒ. ප්‍රේමචන්ද්‍ර මහතා සහ එම මහත්මිය - කිරිදිවැල - රු. 1,000/- ■ ඒ. ධර්මපාල මහතා - එල්ලක්කල - රු. 1,000/- ■ පී.වී.පද්මසිරි මහතා - යටියන්තොට - රු. 1,000/- ■ නිලූකා වෙල්ගම මහත්මිය ඇතුළු පවුලේ සැම - කඳාන - රු. 1,000/- ■ ඒ.ඒ. අකිල ඩිල්ෂාන් ප්‍රේමතිලක පුතා - රදාවාන - රු. 1000/- ■ එල්. ඒ. කේ. ද සිල්වා මහතා - කිරුළපන - රු. 1,000/- ■ එච්. ඒ. කසුන් පෙරේරා මහතා - රු. 1,000/= ■ අසංක ශ්‍රීලාල් ජයවර්ධන මහතා - කැස්බෑව - රු. 1,000/= ■ චතුරිකා ගුණරත්න මහත්මිය ඇතුළු පවුලේ සැම - ගොතටුව - රු. 1,000/= ■ තිස්ස බී අතාවුද මහතා ඇතුළු පවුලේ සැම - ජා ඇල, එම්.ඩී. තිලකරත්න මහතා ඇතුළු පවුලේ සැම - වැලිපැන්න, රංජිත් වික්‍රමසිංහ මහතා, පද්මාවතී වික්‍රමසිංහ මහත්මිය, සුභාෂිනී දිසානායක මහත්මිය, ජී.එම් ගමගේ මහත්මිය - කඩිගමුව, උපුල් විජේනායක මහතා - මාවනැල්ල, මනෝජ් ජයසූරිය මහතා - මහරගම, ඉසුරු සම්පත් මහතා - කළුතර, දුමින්දා සංජීවනී මහත්මිය - නිට්ටඹුව, කුමාරි ගොඩවිට මහත්මිය, - කුරුණෑගල, රසික තුශාන්ත මහතා - හෝමාගම, ඩී.කේ. විජේසූරිය මහතා - අලුබෝමුල්ල, කාලින්දි ද සිල්වා මෙනවිය, ජිනපාලි

ද සිල්වා මහත්මිය, රුචිර ප්‍රමෝද් ද සිල්වා මහතා - නාවල, සෙනෙහෙලතා ජයවික්‍රම මහත්මිය - ගම්පහ, අසදිස මහතා - රත්තනපිටිය, ගයාන් අගලවත්ත මහතා සහ මැණික් කුරුප්පු මහත්මිය, වී. ජී. සමන් චිත්‍රානන්ද මහතා - තවලම, එච්. එම්. ඇලිස් නෝනා මහත්මිය - මොරාවත්ත, - එකතුව - රු. 7,900/- එකතු වූ සියලු මුදල් පරිත්‍යාග- රු. 192,440/- ■ පළමු පිටපත් 12,000 සඳහා මුද්‍රණ වියදම රු. 262,800/- ■ අනෙකුත් වියදම් - 18,610/- ■ සම්පූර්ණ වියදම - රු. 281,410/- මුද්‍රණ කටයුතු සඳහා ගිය හිඟ මුදල සඟරා අලෙවියෙන් පියවා ගන්නා ලදී. සඟරා අලෙවියෙන් ලැබෙන ඉතිරි සියලු මුදල් නැවත මුද්‍රණ කටයුතු ඇතුළු දහම් කටයුතු සඳහා යොදවනු ලැබේ.

**ඉහත නම් සඳහන් පිංවත් පිරිස ඇතුළු ආධාර උපකාර කළ සියලු දෙනා සිදු කරගත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද හේතු කොටගෙන, අනන්ත සසරේ පටන් මේ දක්වා තම තමන් අතින් අවැඩ, අසාධාරණ, වැරදි, ප්‍රමාද දෝෂවලට ලක් වූ සියලු දෙනාට මෙන්ම උදව් උපකාර කළ සැමටත්, මියගිය සතර වරිගයක ඥාති මිත්‍රාදීන්ටත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද විහිදී පැතිරී පිහිටා සුඛිත මුදිත වෙත්වා, සුගතිගාමීව තම තමන්ගේ පැතුම් පරිදි නිර්වාණාවබෝධයටද හේතු වාසනා වේවා! එම ආධාර උපකාර කළ පිංවත් පිරිස් ඇතුළු සිය පවුල්වල සැමටත්, කරන කියන යහපත් රැකී රක්ෂා ව්‍යාපාර ආදියෙන් සියලු ජයග්‍රහණයන් අත් වේවා. දූ දරුවන්ගේ අධ්‍යාපන ආදී කටයුතුවලින් විශිෂ්ඨ ජයග්‍රහණ අත් වී සුචරිත පිරිසක් වී සියලු අභිවෘද්ධිය උදා වේවා!**

---

# සියවස් ගණනාවකට පෙර සැඟව ගිය නිමල බොදු මග යළි පුබුදුවමින්,

***හෙළ බොදු පියුම දහම් කරුණු ඔබ වෙත රැගෙන එන්නේ, බුදු පියාණන් වහන්සේ අනුදැන වදාළ, අග්ගඤ්ඤ සූත්‍රය, නිරුක්තිපථ සූත්‍රය සහ අරණවිභංග සූත්‍රය යන සූත්‍රාන්තයන්ට අනුව, දහම් පදවල සැඟවුණු දහම් අරුත් මතු කරන පද නිරුක්ති සහ අතීතය, වර්තමානය, අනාගතය හඟවන තුන්කල් නිරුක්ති සහිත ව්‍යවහාර ශබ්ද නිරුක්ති ක්‍රමවේදය අනුව මිස, උන්වහන්සේ අනුමත නොකළ ලිඛිත භාෂා රීති සහිත බමුණන්ගේ ත්‍රිවේද නිරුක්ති මත නොවන බව සලකන්න.***

---

**පින්වත් ඔබ වෙනුවෙන් එළි දැක්වූ දහම් ගබඩාවන්...**

www.hiddendhamma.net | mp3.hiddendhamma.net | www.helabodhupiyuma.net | www.aaryadharma.org

විද්‍යුත් ලිපිනය: webmaster@helabodhupiyuma.net දු.අ:- 071 3046895 / 036-2267111 / 072 7076688

**දම් සභා ගුවන් හඬ** - www.waharaka.com වෙබ් අඩවිය ඔස්සේ පුර සහ අමාවක පොහොය දිනයන්හි උදෑසන 8.00 සිට සවස 5.00 දක්වා

**සැඟවුණු බොදු මග යළි විවර කරමින් වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානයේ සදහම් වැඩසටහන් පැවැත්වෙන කාල හෝරාවන්:**

සෑම පුන් පොහෝ දිනකම සහ සෑම අමාවක පොහොය දිනකම උදෑසන 8.00 සිට සවස 5.00 දක්වා - පෙහෙවත් සමාදානය, දහම් සාකච්ඡා සහ විශේෂ පුණ්‍යානුමෝදනාව. සෑම මසකම 1 වන සහ 3 වන සෙනසුරාදා ආශිර්වාද පූජාව. 2 වන සහ 4 වන සෙනසුරාදා භාවනා වැඩසටහන්

**ගමන් මාර්ගය: නිට්ටඹුව - රුවන්වැල්ල ප්‍රධාන මාර්ගයේ ගෝණගල්දෙනිය හන්දියේ සිට වහරක අතුරු මාර්ගයේ මීටර 350 ක් පමණ දුරින් දකුණු පස.**

---

## හෙළ බොදු පියුම දහම් සඟරාවේ පසුගිය කලාපයන් ඇතුලු සියලු කලාපයන් දැනට ලබාගත හැකි ස්ථාන:

(1) ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලය - 33, තලවතුගොඩ පාර, පිටකෝට්ටේ (2) නෙක්මෝ කම්පියුටර්ස් ආයතනය - මාලබේ. (0714220558 /0112744308) (3) නිව් පියුම් කොමිනිකේෂන් - පීරිස් මාවත, කළුබෝවිල - 0773742023 (4) පිනැකල් නෙට් - හයිලෙවල් පාර, ගොඩගම- 0112895132 (5) සුජය ෆාමසි - කටුබැද්ද හංදිය, මොරටුව. - 0112655800 (6) පෝලර් රීජන්ස් 402 සී, ගාලු පාර, පානදුර 038-2235369 (7) ස ර ස වි පොත්හල - 330/ඒ, ගාලුපාර, අළුත්ගම - 0773474081 (8) හෙළ බොදු සිසිල සෙනසුන - මුරුතමුරේ, හක්මන - 041-3021878 (9) පත්මසිරි ස්ටෝර්ස් - මුරුතමුරේ (පන්සල අසල) හක්මන - 0718149714 (10) යාපා ටෙක්ස් (සීබ්‍රා ඇපරල්ස්) - 150, නව ආර්ථික මධ්‍යස්ථානය, කෑගල්ල. - 0714569500, 035-3222220 (11) නුගේගොඩ නාලන්දාරාම විහාරස්ථානයේ සදහම් වැඩසටහනින් (ඉරිදා උදේ 9.00 සිට සවස 2.00 දක්වා පමණි.) (0773742023) (12) දෙහිවල කරගම්පිටිය ශාස්ත්‍රානන්ද පිරිවෙන් විහාරස්ථානයේ සදහම් වැඩසටහනින් (සෙනසුරාදා උදේ 8.30 සිට) සවස 2.00 දක්වා පමණි) (දෙහිවල පොලිස් ස්ථානය අසල) - 0718059784, 0772055098 (13) තුෂාරා ෆැෂන් - හයිලෙවල් පාර, හෝමාගම - 0112857572 (14) තුෂාරි සාරි සෙන්ටර් - කොළඹ පාර, පාදුක්ක - 0766114237 (15) ගේට්වේ අධ්‍යාපන ආයතනය - කලේගාන, ගාල්ල - 091-2242610 (16) නිව් මෙට්‍රෝ කම්පියුටර්ස් - කාලිදාස මාවත, මාතර - 041- 2225118 (17) සහන ෆාමසි - මුණගම, හොරණ - 0712608776 (18) මෝලෙ කඩේ - මුදුන, වලස්මුල්ල - 0711662643 (19) දිලුනෙත් - පාසල් මාවත, කඹුරුපිටිය - 0719856555 (20) පුවත්පත් වෙළඳසල, කඩිගමුව, පට්ටම්පිටිය (රඹුක්කන හරහා) - 0719565624 (21) අරිය චින්තාශ්‍රම හෙළ බොදු සෙනසුන, බාලදක්ෂ මාවත, ගල්කඩවල, අනුරාධපුර - 0766442125 (22) රුහුණු ෆුඩ් ලයින්, අංක 05, හලාවත පාර, කොච්චිකඩේ - 0312277726 (23) දම්රුස් ටෙක්ස් - 10 බී, ගාලු පාර ගල්කිස්ස - 0112721037 (24) තලංගල්ල විවේක සේනාසනය - 0716272455 (25) ඩබ්. කේ. නලිනසේකර මහතා - මගුළුමස්විල, වලල්ලාවිට - 0342284428 (26) නිව් නදී ඉන්ඩස්ට්‍රීස් - 160 ඒ, දෙහිවල පාර, මහරගම - 0112842290 (27) චන්දන පූජා භාණ්ඩ - 100, බදුල්ල පාර, හාලිඇල - 0552294999 (28) කුමාර අයන් වර්ක්ස් - 209 ඒ, ගලහිටියාව, ගනේමුල්ල - 0769604682, 0713329621 (29) රුචිර ද සිල්වා මහතා - අංක 09, ග්‍රෑන්ඩ් හොටෙල් පාර, නුවරඑළිය -0772717514 (30) ගමගේ පොත්හල, අංක 119 ඒ/1, මිද්දෙණිය පාර, අඟුණුකොළපැලැස්ස - 0714492649

**තැපෑලෙන් ගෙන්වා ගැනීම සඳහා විමසන්න - ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලය - අංක 33, තලවතුගොඩ පාර, පිටකෝට්ටේ - 0777794676**

***ඉහත ආයතන හිමි පින්වතුන් මෙම සද් කාර්ය ඉටු කරනු ලබන්නේ කිසිදු වෙළඳ ලාභයකින් තොරව සාසනික කටයුත්තක් වශයෙන් පමණි.***



# ඉබාගාතේ නොගොස්... නිවනට සපැමිණෙව්...

කෙළවර නොදැක සසරේ යන මේ　　ගමන
කරදර තමයි වින්දේ සදහට　　දවන
පැහැබර අනාගතයක් නොම වෙයි　　මවන
අභවර නොකළොතින් සදහට වෙයි　　මරණ

වැගිරේ කඳුළු සිහි වෙන විට දුක්　　කන්ද
පැතිරේ දස අතම සෝ ගිනි දැල්　　බැන්ද
ඉතිරේ මළ මිනිය කුණු වී　　පණුවන්ද
අඳුරේ තමයි මළ පසු හැම දෙන　　අන්ධ

කවුරුද දන්නෙ තම සිත දැන් තියෙන　　තැන
බැලුවද හිතල මොහොතක්වත් මුනිඳු　　බණ
මැරුණද උපන්නද කවුරුද මෙ තතු　　ගැන
සිතුණද ගැළවෙන්න මරුගෙන් නිවන　　දැන

මම මගෙ කිය කියා බැදුවට ලොවම　　අද
එම දේවල්ම ලැබුණද තියෙනවද　　හොඳ
නම ගම කිය කියා සසරේ විඳින　　වද
හැම දේවල්ම අතහැරෙනව දුකම　　විඳ

බලන බලන තැන මිතුරන් පව්　　කාර
කරන කියන දේ අවිදුවෙ සං　　කාර
දුවන ගමන නවතා මොහොතක්　　නෑර
කළණ මිතුරගෙන් දැන ගනු හරි　　පාර

ලොව පවතින්නෙ අපි ලොව හදනා　　හින්දා
භව හදන කල් එයි සසරේ දුක　　කැන්දා
පවමයි ගොඩනගන්නේ ලෝ සත　　අන්දා
නිවනට සපැමිණෙව් අවිදුවෙ මුල　　සින්දා

පබැඳුම : හඳපාන්ගොඩැල්ලේ අරියදස්සි හිමි






# ගතවෙන හැම තත්පරයම වැදගත්...

හෝරා යත් හැම අතකම තිබුණට
තෝරා ගත්තේ සත එය කුමකට
භාරා ගෙන ලොව තොරතුරු බලනට
බේරා ගත්තද මතු යන තැනකට

අහසින් පොළවට වැටෙනට දිය බිඳ
දහසින් නැත කල් ගන්නේ සැණ කඳ
එලෙසින් භවයෙන් භවයට යන සඳ
දවසින් දවසම මරු වෙත යයි ඇඳ

සත වෙත කරුණාවෙන් මග සෑදූ
අත හිත දෙන දම නිවනට ඇඳූ
ඇත අදටද ගුණ තුන් දොස සේදූ
නිතරම නැත නිවනට දම සාදූ

නිදි ගැන්මට කන බොන පොදු හැමටම
සැදි කාලය වෙන් කළ විට සියලුම
මදි නොම වෙද තව ඉතිරිය දිවියෙම
කෙදිනද වෙන් වන්නේ සිත වෙත දම

තව තව බල බල ඉන්නේ නැතුවම
දවසෙම වැඩි කල් යෙදුනොත් දහමෙම
දිව යන සසරෙහි ලබනට සැනසුම
නවතනු හැක දුක් කඳ ලැබු භවයෙම

නිතරම පෙලෙනා ලෝකෙක ඉඳගත්
සත මී වද යැයි සිතමින් අදහත්
සිත කුළු මීමෙකි කැලයෙම බඳවත්
ගත වන හැම තත්පරයම වැදගත්

පබැඳුම - නීතිඥ චන්දන සිරිවර්ධන



1060 Rs.25.00
Hela Bodhu Piyuma 60

නීතිඥ චන්දන සිරිවර්ධන විසින් සංස්කරණය කර නුගේගොඩ ගංගොඩවිල වනාත පාරේ අංක 96/A දරණ ස්ථානයේ පිහිටි ඉමාෂි මුද්‍රණාලයේ මුද්‍රණය කර ප්‍රසිද්ධ කරන ලදී